සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2016 පෙබරවාරි)

53 වෙනි කලාපය

## ගිහි පැවිදි සැමට ගැලපෙන සාසනික ප්‍රත්‍යවේක්ෂාව...



රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# දහමක මහිම









කල් යල් බලා  දෙව් ලොව තුසිතයෙහි හිඳ
සිල් වත් බිසව මායා මව් කුසෙහි වැද
මල් මල් පිරුණු සල් අරණක උපත ලද
පින් වත් කුමරු සැනසුනි මොක් සුවය විඳ

අව ගති දුරැර යහ ගුණ දම් පණ ගන්වා
පව පින කියා දී සදහම් මග පෙන්වා
නිවනට දෙලොව - බිය හැකි මෙබඳුය දන්වා
භව දුක නසන මග දුනි සිහියට නංවා

පහදනු පිණිස බිඳ මිස දිටු මත නරුම
සිහ රද විලස සච්චක පැරදුව අරුම
මහ මෙරටත් වැඩිය එහි අසිරිය මහිම
යහපත පිණිසමය හිමි වදහළ දහම

ගැබ් බර කතාවක් පළ කළ නැහැ දිච්චි
සංවරයක් නොමැති එම ගැහැණිය කිංචි
දුක් බර රජ්ජුමාලා දාසිය පුංචි
පින් බර බුදු සමිඳු අබියස සැන සෙච්චි

සත වෙත පතළ මහ කරුණා පිරුණු මෙත
නැත බුදු කෙනෙකු ළඟ මිස වෙන කෙනෙකු වෙත
සෙත සුව පිණිස ලෝ සතුනගෙ තනන සිත
ගත සිත නිවන දහමක් තව ලොවෙහි නැත

සැපතෙහි ඇලුන සත්වග සසරෙහි බන්දයි
සසරෙහි බිය දැනෙන්නේ බුදු බණ හින්දයි
දහමෙහි අරුත සතහට නැණ ගුණ කැන්දයි
ගුණයෙහි පිහිටි සත අරි අට මග රන්දයි

පබැඳුම - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

**20 වන කොටස**

ලොව්තුරා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ ඒකදාන කියල අරිහතුන් වහන්සේ නමක් වැඩ හිටියා. මේ අරිහතුන් වහන්සේ පෝය දවසට එකම එක උදාන වාක්‍යයක් විතරයි දේශනා කරන්නෙ. හැම පෝයටම මේ එකම එක උදාන වාක්‍යය හඬ නගා කියනවා. කැලෑවක හුදෙකලාවමයි මේක කරන්නෙ. මුලින්ම ධර්ම දේශනාව අහන්න එන්න කියල ආරාධනා කරනවා. ඊට පස්සෙ මේ එකම එක උදාන වාක්‍යය දේශනා කරනවා. මේක අහගෙන ඉන්න දෙවිවරු මහපොළව ගැහෙන තරමට සාදුකාර දෙනවා.



අධිචේතසෝ අප්පමජ්ජතෝ මුනිනෝ
මොනපථේසු සික්ඛතෝ
සෝකා න භවන්ති තාදිනෝ
උපසන්තස්ස සදා සතීමතෝති

සරල සිංහල තේරුම,

අධි චිත්ත සංඛ්‍යාත රහත්ඵල සිතැති (අනවද්‍ය ධර්මයේ සාතත්‍ය ක්‍රියා විසින්) අප්‍රමාද විහරණ ඇති මොනපථයෙහි (සත්තිස් බෝධි පාක්ෂික ධර්ම) හික්මෙන තාදී ගුණ ඇති උපශාන්ත වූ, හැම කල්හි ස්මෘතිමත් වූ මුණිවරයාට ශෝකයෝ නොවෙත් යයි.(ථේර ගාථා - 30 පිටුව - ඒකුදානි ථේර ගාථා)

අධි චිත්ත සංඛ්‍යාත කියන්නෙ, ධ්‍යාන හිත් සහිතව කියන අදහස. අනවද්‍ය ධර්මයේ සාතත්‍ය කියන්නෙ, නිවැරදි දහම සාක්ෂාත් කරගත්තා වූ කියන අදහස. මොනපථ කියන්නෙ, ධර්මාවබෝධය පූර්ණ කරගන්න තියෙන මාධ්‍යය හෙවත් සත්තිස් බෝධිපාක්ෂික ධර්ම. තාදී ගුණ කියන්නෙ, නිහතමානී ගුණ. උපශාන්ත කියන්නෙ, හැම වෙලේම ස්වභාවයෙන්ම නිවනට අනුකූලව ක්ෂාන්තියේ පිහිටා ඉඳීම.

ඉතින් මේ විදිහට තමන් වහන්සේගෙ නිදහස් මනසට නැගුණ සිතිවිල්ල තමයි උන්වහන්සේ උදාන වාක්‍යයක් හැටියට හැම පෝයටම කියන්නෙ. පැය ගණන් ඉතා දිගට බණ කියන්න ගියේ නෑ. තමන් වහන්සේට දැනුන සුවය උදාන වාක්‍යයක් හැටියට දේශනා කළා. ඒ උදාන වාක්‍යය, එහෙම නැත්නම් ගාථාව තුල අරිහත් ඵල සුවය ගැන, සත්තිස් බෝධි පාක්ෂික ධර්ම පූර්ණ කිරීමෙන් ඇති වූ ශාන්ත බව සහ නිදහස ගැන තමයි තියෙන්නෙ. ඉතින් තමන් වහන්සේ තුල නැගෙන රාග නැති, ද්වේශ නැති, මෝහ නැති සිතිවිල්ල තමයි ඒ වෙලාවෙ ලෝකයට කියා පෑවෙ. ඒකෙන් මහා ශාන්තියක් නැගෙනවා. ඒ ශාන්තියේ ශක්තිය සම්‍යක් දෘෂ්ඨික දෙවියන්ට තේරෙනවා. නිවනේ ශාන්තියත්, සුවයත් ඒ ගාථාව තුල තියෙනවා. ඒක දෙවියන්ටත් සුවයක්. ඒ සුවය දැනෙන්න දැනෙන්න එකම එක ගාථාව වුනත්, දෙවියොත් අහල සාදුකාර දුන්නෙ ඒ නිසා.

ඉතින් මේ සාදුකාර ශබ්දය අහල තවත් භික්ෂුණ් වහන්සේලා දෙනමක්, පන්සියයක් පිරිවර එක්ක මේ සිද්ධිය බලන්න ගියා. නමුත් ඒ වෙනකොටත් එතන හිටියෙ අර අරිහතුන් වහන්සේ විතරයි. මේ භික්ෂුණ් වහන්සේලා දෙනම ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේලා. මුලින්ම එක් නමක් ධර්ම දේශනා කරන්න ආරාධනාව කරල දේශනාව පටන් ගත්තා. නමුත් කිසිම සාදුකාර ශබ්දයක් ඇහුනෙ නෑ. දැන් මේ භික්ෂූන් වහන්සේලා දෙනමට පුදුමයි. නැවතත් මේ ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේලා දෙනම අරිහතුන් වහන්සේට ආරාධනා කළා, ඔබ වහන්සේ ධර්ම දේශනා කරන්න කියල. ඉතින් ඒකුදානි අරිහතුන් වහන්සේ සුපුරුදු පරිදි තමන් වහන්සේ දන්න එකම එක ගාථාව දේශනා කළා. නැවතත් මහ පොළව හෙල්ලෙන තරමට දෙවියන්ගෙ සාදුකාර හඬ ඇහුනා. ඊට පස්සෙ නැවතත් අර ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේලා ධර්ම දේශනය පටන් ගත්තා. දැන් දෙවිවරු මූණට මූණ බලනවා, මේ මොකක්ද වුනේ කියල. ඒත් එක්කම සාදුකාරයත් නැවතුනා.

ඉතින් අර ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේලා දෙනම ඒකුදානි අරිහතුන් වහන්සේගෙන් ඇහුවා, ඔබ වහන්සේ එකම එක ගාථාව කියන කොට මෙච්චර සාදුකාර දෙන්නෙ කොහොමද කියල? ඉතින් උන්වහන්සේ, අනේ ඒකනම් එහෙම වෙන්නෙ කොහොමද කියල මම දන්නෙ නෑ කිව්වා. මේක අර ත්‍රිපිටකධාරී භික්ෂූන්

වහන්සේලාට ප්‍රශ්නයක් වුනා. අපි ධර්මය දේශනා කරද්දි සාදුකාර නොදෙන්න හේතුවත්, මේ භික්ෂූන් වහන්සේ එකම එක ගාථාවක් කියද්දි සාදුකාර දෙන්න හේතුවත් හොයා ගන්න ඕන කියල හිතල, බුදුන් වහන්සේ හමුවෙන්න ගිහින් උන්වහන්සේට මේ කාරණය කියා සිටියා. ඉතින් සියල්ලෙන් සියල්ල දකින ලොව්තුරා බුදුන් වහන්සේ මේ ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේලාට මේ විදිහට ඒක විග්‍රහ කරල දුන්නා.

**"මහණෙනි, බොහෝ කොට කියන හෝ බොහෝ කොට ඉගෙන ගන්නා අය ධර්මධර යැයි මම නොකියමි. යම් කෙනෙක් එකම ගාථාවක් හෝ ඉගෙන සත්‍යය අවබෝධ කර ගනීද, ඒ තැනැත්තා ධර්මධර යැයි මම කියමි."** ඉතින් උන්වහන්සේ මේ විදිහට පහදල දීල මේ ගාථාව දේශනා කළා.

න තාවතා ධම්මධරෝ
යාවතා බහු භාසති
යෝච අප්පම්පි සුත්වාන
ධම්මං කායේන පස්සති
සවේ ධම්ම ධරෝ හෝති
යෝ ධම්මං නප්පමජ්ජති

සරල සිංහල තේරුම,

**යමෙක් ධර්මය හදෑරීම් පිරවීම් කළ පමණින්වත්, අනුන්ට බොහෝ සේ කී පමණින්වත් ධර්මධරයෙක් නොවේ. යමෙක් වනාහි ස්වල්පයක් නමුත් දහම් අසා දැන ධර්මානුධර්ම පිළිවෙතට පැමිණ නාම කයින් (මනසින්/නුවණින්) චතුරාර්ය සත්‍යය දකී නම්, හෙතෙම ඒකාන්තයෙන්ම ධර්මධරයෙක් වේ. යමෙක් වඩන ලද වීර්ය ඇතිව දහම්හි නොපමාව වෙසේ නම් එබඳු පුද්ගලයාත් ධර්මධර නම් වේ.**

මේක බොහොම වැදගත් කාරණයක්, ලොව්තුරා බුදුන් වහන්සේම දේශනා කරපු කාරණයක්. උන්වහන්සේ දේශනා කරපු දේක අඩුපාඩු, වැරදි කියන්න සමතෙක් නෑ. ඒ කියපු දේ කියන්නෙ සියල්ලෙන් සියල්ල දකින නුවණින්. මේක තමයි ධර්මධර කියන වචනයට, එහෙම නැත්නම් තානාන්තරයට ලොව්තුරා බුදුන් වහන්සේ දීපු අර්ථකතනය. මුලින්ම උන්වහන්සේ දේශනා කරන්නෙ, යමෙක් ධර්මය හදාරල කිසිම අඩුපාඩුවක් නැතිව හිස්තැන් පුරවගෙන, එහෙම නැත්නම් අහන තැනින් මේ පිටුවේ මේ තැන තියෙන්නෙ... ආදී වශයෙන් කියන්න පුළුවන් තැනක හිටියත්, අනුන්ට හැම තිස්සෙම ඒ දැනගත්ත දේ කිව්ව පමණින් ධර්මධරයෙක් වෙන්නෙ නෑ කියල.

මේ ලිපිය කියවන පින්වතුන් අහල ඇති පෝඨිල හාමුදුරුවො ගැන. උන්වහන්සේ ගෞතම බුද්ධ සාසනයට කලින් බුද්ධ සාසනයේ අවුරුදු 20,000ක් පමණ ත්‍රිපිටකධාරීව හිටපු භික්ෂූන් වහන්සේ නමක්. ගෞතම බුද්ධ සාසනයෙත් ඒ වගේ ත්‍රිපිටකධාරීව හිටියෙ. ඒත් ලොව්තුරා බුදුන් වහන්සේ පෝඨිල හාමුදුරුවන්ට එක්තරා අවස්ථාවක තුච්ඡ පෝඨිල කියල මනා නිග්‍රහයෙන් නිග්‍රහ කළා. ඒ කියන්නෙ පෝඨිල හාමුදුරුවන්ට ගැළපෙන විදිහට, ගැළපෙන තැනදි නිග්‍රහ කළා. එහෙම කළේ ඒ හාමුදුරුවන් තමන් වහන්සේ ධර්මධරයි කියල හිතාගෙන හිටපු මාන්නය බිඳින්න. ''තු'' කියන්නෙ පහත්. ''අච්ච'' කියන්නෙ ඉක්ම ගියා. පහත් බවින් ඉක්ම ගියා කියන එකයි තුච්ච කියන්නෙ. බුදුන් වහන්සේගෙ ඒ වචනයෙන්ම උන්වහන්සේ අවශ්‍ය මාර්ගයට වැටිල අවසානයේ අරිහත් වුනා. ඒ තරම් දැනගෙන ඉඳලත්, බණ කිව්වත් ඇයි ධර්මධර කියන තැනට පෝඨිල හාමුදුරුවන්වත්, මේ අවස්ථාවෙ හිටපු ත්‍රිපිටකධාරී භික්ෂූණ් වහන්සේලා දෙනමවත් වැටුනෙ නැත්තෙ?

මේ ධම්ම පද ගාථාවෙ එන නිදාන කතාවට අනුව, ඒ අරිහතුන් වහන්සේ ඒ ගාථාව හැර වෙන එකක් දැන ගෙන හිටිය බවක් පේන්නත් නෑ. ඒ වගේම දිවැසක් තිබුන බවත් පේන්න නෑ. ඒක තෝරගන්න පුළුවන් අර භික්ෂූන් වහන්සේලා දෙනම, කොහෙන්ද මේ සාදුකාර හඬ එන්නෙ කියල ඇහුවම, උන්වහන්සේ කිව්වෙ මම දන්නෙ නෑ, මගේ මේ දේශනාව ඉවර වෙනකොටම සාදුකාර හඬ ඇහෙනව කියල. එතකොට උන්වහන්සේ ඒ සාදුකාර හඬ එන විදිහ දැනගෙන ඉඳල නෑ. ඒ වගේම උන්වහන්සේට ඒ කියපු උදාන වාක්‍යය විග්‍රහ කරල කියන්න හැකියාවක් තිබුන බවත් පේන්න නෑ. ඒත් බුදුන් වහන්සේ උන්වහන්සේට කිව්වා, අන්න ධර්මධර භික්ෂූණ් වහන්සේ නමක් කියල. එහෙම වුනේ කොහොමද කියල හිතෙන්න පුළුවන්.

ඒ වගේම ධර්මයේ එන තව අවස්ථාවක් තමයි අස්සජී මහ රහතන් වහන්සේ උපතිස්ස පරිබ්‍රාජකයට කියපු කතාව. උපතිස්ස පරිබ්‍රාජකයා ඇවිටිලි කළාම තමයි ඒ ගාථා පේළි හතරවත් කිව්වෙ. ඒත් උපතිස්ස පරිබ්‍රාජකයට සෝවාන් වෙන්න තරම් ඒ පේළි හතර ප්‍රමාණවත් වුනා. ඒ වගේම මේ අරිහතුන් වහන්සේලා මහ ලොකු දේශනා කරපු වගක්වත් ධර්මයේ සඳහන් වෙන්නෙ නෑ. සැරියුත් මහ රහතන් වහන්සේ වගේ, මහා කොට්ඨිත මහ රහතන් වහන්සේ වගේ, ධම්ම දින්නා මහ තෙරණිය වගේ කරපු මහ ලොකු දේශනාත් නෑ. ඒත් උන්වහන්සේලාත්, බුදුන් වහන්සේට අනුව ධර්මධර භික්ෂූණ් වහන්සේලා.

ඉතින් කොහොමද ධර්මධර වෙන්නෙ? කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. ඒ වෙන හැටි තමයි ලොව්තුරා බුදුන් වහන්සේ ඊළඟ පේළිවලින් විග්‍රහ කළේ. කෙනෙක් ඉතාම කුඩා ගාථාවක් හෝ දහම් අසා ධම්මානුධම්ම ප්‍රතිපදාවට ඇවිත් චතුරාර්ය සත්‍යය දකී නම් හෙතෙම ඒකාන්තයෙන්ම ධර්මධරයෙක් වේ. මේ ටික තමයි උන්වහන්සේ දේශනා කළේ. ඉතින් ධම්මානුධම්ම ප්‍රතිපදාව කියන්නෙ මොකක්ද? සෝවාන් අංග හතරින් එකක්. සෝවාන් වීමට අවශ්‍ය කරුණු හතරෙන් හතරවෙනි කාරණය. මුලින්ම සත් පුරුෂයෙක් ඇසුරු කිරීම. ඊට පස්සෙ ඒ සත් පුරුෂයාගෙන් දහම් ඇසීම. ඒ අහපු දහම් නුවණින් මෙනෙහි කිරීම. අවසානයේ ඒ අහගත්ත දහම් තුළින් අනිච්ච, දුක්ඛ, අනත්ත වටහා ගැනීම. ඒ තුළින් ලැබෙන දහම් අවබෝධයෙන් යම් කිසි ක්‍රම රටාවකට අනුව ජීවිතය සකස ගෙන දස අකුසල් කිරීම, කරවීම, අනුබල දීම, වර්ණනා කිරීම ආදී කාරණාවලින් වෙන් වෙලා ඉන්නවා.

ඒකත් ධර්මානුධර්ම ප්‍රතිපදාවේ කොටසක්.

මේ අංග හතර එකවිට පූර්ණ වුන වහාම සෝවාන් ඵලයට පත්වෙනවා. වෙනත් විදිහකට කියනව නම්, චතුරාර්ය සත්‍යය අවබෝධ වෙනවා. චතුරාර්ය සත්‍යය තේරුම් ගැනීම කියන්නෙ ලේසි පහසු දෙයක් නෙවෙයි. සාමාන්‍යයෙන් ඕනම කෙනෙක්ගෙන් ඇහුවොත් චතුරාර්ය සත්‍යය කියන්නෙ මොකක්ද කියල, කියන්න හැකියාව තියෙනවා. පාසැල්වල බුදු දහම කියන විෂය කරුණුවලටත් ඉගැන්වෙනවා. ඒ ඉගෙන ගන්න ඕනම කෙනෙක්ගෙන් ඇහුවොත් එක හුස්මට කියයි දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මාර්ගය කියල. ඒක පොදුවේ ඕන කෙනෙක් දන්න කාරණයක්. පොත්පත්වලින් ඉගෙන ගෙන තියෙනවා, අහල තියෙනවා. දැන් ඒ අයත් චතුරාර්ය සත්‍යය දන්නවද? එහෙම නැත්නම් අවබෝධ කරගෙනද? ඒ අයත් ධර්මධරද? මේ අය ගැන තමයි ලොව්තුරා බුදුන් වහන්සේ මුලින්ම කිව්වෙ, යමෙක් ධර්මය හැදෑරීම්, පිරවීම් කළ පමණින් හෝ බොහෝ සෙයින් ධර්මය කී පමණින් ධර්මධර වෙන්නෙ නෑ කියල. එතකොට ඔය විෂය කරුණු උගන්වන ගුරුවරු, කී දාහක් ළමයින්ට චතුරාර්ය සත්‍යය විෂය කරුණුවලට උගන්වන්න ඇත්ද?

කෙනෙකුට හිතෙන්න පුළුවන් දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මග නෙවෙයි හරි එක, දුක පිළිබඳ ඥානය, දුකට හේතුව පිළිබඳ ඥානය, දුක නැති කිරීම පිළිබඳ ඥානය, දුක නැති කිරීමේ මග පිළිබඳ ඥානයයි චතුරාර්ය සත්‍යය කියන්නෙ කියල. අපිට කියන්න පුළුවන්ද ඒ පුද්ගලයත් ධර්මධරයි, එහෙම නැත්නම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගෙන ඉන්නෙ කියල? සමහර විට ඔහුට අවබෝධ නැති වුනාට, කලින් වගේම ඉගෙන ගත්ත දෙයක් වෙන්න පුළුවන්. ඉතින් ඒ අනුව බැලුවම, වචන කිව්ව පමණින් ධර්මධර වෙන්නෙ නෑ. ඒ වගේම ඒ වචන නොකිව්ව පමණින් ධර්මධර නෙවෙයි කියන්නත් බෑ. හොඳම උදාහරණය තමයි මුලින් කිව්ව අරිහතුන් වහන්සේගෙ උදාන වාක්‍යය. ඒ තුල චතුරාර්ය සත්‍යය පිළිබඳව හෝ අනිච්ච, දුක්ඛ, අනත්ත පිළිබඳව හෝ පටිච්ච සමුප්පාදය පිළිබඳව හෝ කිසිම වචනයක් නෑ. නමුත් උන්වහන්සේගෙ අත්දැකීමක් පමණක් විස්තර කරල තියෙනවා. ඉතින් බුදුන් වහන්සේ ඒ අරිහතුන් වහන්සේ ධර්මධරයි කියල අනුමත කළා. එතකොට ධර්මධර වෙන්න නම් චතුරාර්ය සත්‍යය අවබෝධ වෙලා තියෙන්න ඕන. ඒකත් බුදු වදනක්. කිසිම දවසක බුදුන් වහන්සේගෙ ශ්‍රී මුඛයෙන් කරපු දේශනා පරස්පර නෑ. අතන එහෙමයි කිව්වෙ, මෙතන මෙහෙමයි තියෙන්නෙ කියල, ගැලපීමක් නැනෙ කියල කිසි කෙනෙකුට කියන්න බෑ. උන්වහන්සේ කියපු දේවල් ඒ තරම් සර්ව සම්පූර්ණයි.

ඒ නිසා අපි තේරුම් ගන්න ඕන, චතුරාර්ය සත්‍යය අවබෝධය කියන්නෙ වචන නෙවෙයි, වචන පඨ ඉක්මවපු අවබෝධයක්. මොන වචනවලින් කිව්වත් පොදු අදහසක් තියෙනවා. ඒ අදහස තුල එන හැඟීම එකයි. ඒක ලොව්තුරා බුදුන් වහන්සේ කිව්වත්, සැරියුත් මහ රහතන් වහන්සේ කිව්වත්, අස්සජි මහ රහතන් වහන්සේ කිව්වත්, අද ජීවමානව වැඩ ඉන්න ආර්යන් වහන්සේ නමක් කිව්වත් අදහස එකයි, හැඟීම එකයි. නමුත් වචන වෙනස් වෙන්න පුළුවන්. උදාහරණ විදිහට එදා අශ්ව කරත්තයක් අරගෙන කිව්ව උපමාවක් අදට ගැලපෙන විදිහට, අද වැඩ ඉන්න ආර්යන් වහන්සේ නමක් මෝටර් රථයක් අරගෙන කියන්න පුළුවන්. නමුත් අපි බලන්න ඕන එදා එහෙමනේ කියල තියෙන්නෙ, අද ඇයි මෙහෙම කියන්නෙ කියල නෙවෙයි. එදා අදහසට අද අදහස ගැලපෙනවද කියල විතරයි. ඒ හැඟීමයි සත්‍යාවබෝධයට අවශ්‍ය වෙන්නෙ. එහෙම නැතුව වචන නෙවෙයි. වචන පදවල එල්ලිලා ඉඳල නිවන් දකින්න බෑ. පද පරමයාට නිවන් නෑ කිව්වෙත් ඒකයි.

ඉතින් මේ හේතු නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ මාතෘකාවක් කියල ඒ ස්ථානයෙන් නැගිටල ගියේ. දැන් ඒ මාතෘකාව කිව්ව ගමන් අහගෙන හිටපු භික්ෂූන් වහන්සේලාට ප්‍රශ්නයක් එනවා, මොකක්ද ඒ කිව්වෙ කියල. ඒ කිව්ව මාතෘකාව තමන්ට තනියෙන් විග්‍රහ කර ගන්න හැකියාවකුත් නෑ. ඉතින් උන්වහන්සේලා ඊළඟට ගන්න පියවර මොකක්ද? සැරියුත් හාමුදුරුවො මහා ප්‍රාඥයි උන්වහන්සේ විසඳල දෙයි, එහෙම නැත්නම් කොට්ඨිත හාමුදුරුවො මහා ප්‍රාඥයි උන්වහන්සේ ඒක විසඳල දෙයි කියල හිතල උන්වහන්සේලා ළඟට ගිහින්, බුදුන් වහන්සේ මෙහෙම දෙයක් කිව්වා අපිට ඒක විසඳල දෙන්න කියල ඉල්ලා සිටිනවා. එතකොට මේ ශ්‍රාවකයන් වහන්සේලා බුදුන් වහන්සේ මාතෘකාව විදිහට දුන්න දේ බෙදල විග්‍රහ කරල දෙනවා. ඉතින් ඒ විස්තරය අහගත්ත හාමුදුරුවරු උන්වහන්සේලාට ප්‍රසංසා කරල බුදුන් වහන්සේ ළඟට ගිහින්, අපිට ඒක මහ තෙරුන් වහන්සේ නමක් විසඳල දුන්න කියල කියා සිටිනවා.

එතකොට ලොව්තුරා බුදුන් වහන්සේ ඊළඟට කියා සිටින්නෙ, සැරියුත් හාමුදුරුවො මහා ප්‍රාඥයි, කොට්ඨිත හාමුදුරුවො මහා ප්‍රාඥයි, මම කිව්වත් ඒ විදිහටම තමයි කියන්නෙ, ඒ කිව්ව ටික දරාගන්න, බහුලව වඩන්න කියල. ඉතින් මේ කාරණය ඒ කාලෙ වැඩ හිටපු ශ්‍රාවකයන් වහන්සේලා සම්බන්ධයෙන් විතරක් නෙවෙයි, අදටත් අපි අතර වැඩ ඉන්න ශ්‍රී සද් ධර්මය දේශනා කරන, ධර්මාවබෝධය ලබපු ශ්‍රාවකයන් වහන්සේලාටත් අදාලයි. වචන වෙනස් වුනාට උන්වහන්සේලා දේශනා කරන්නෙත් එදා ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළ අදහසමයි. ඒ නිසා, අනේ එදා අපිට ඉන්න බැරි වුනානෙ කියල පසුතැවිලි වෙන්න දෙයක් නෑ. අදහස් එකයි, හැඟීම එකයි. ඒ අහන දේශනාවෙන් රාගය ක්ෂය වෙනවද, ද්වේශය ක්ෂය වෙනවද, මෝහය ක්ෂය වෙනවද, එහෙනම් නැවත දෙපාරක් හිතන්න දෙයක් නෑ, කවුරු කිව්වත් ඒක බුදු බණ හැටියට ගන්න පුළුවන්. ඒ දේශනා කරන ශ්‍රාවකයන් වහන්සේ ධර්මධර උත්තමයෙක්.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලියේ ධම්මට්ඨ වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව
072-7536839

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව 3

මේ ලෝකයේ හටගත්තු සහ ඉදිරියේදී හටගන්න මොන දෙයක් වුනත්, හේතුවට අනුකූලව ඵලයක් විද්‍යමාන වීම කියන ලෝක ධර්මතාවය තමයි සිද්ධ වෙන්නෙ. එහෙම නැතුව අපේ කැමැත්තට කිසිවක් සිද්ධ වෙන්නෙ නෑ. සමහරු මේක වැරදි විදියට තේරුම් අරගෙන, ලෝකය තමන්ගෙ කැමැත්තට පවත්වන්න පුළුවන් කියල හිතාගෙන ඉන්නවා. මොකද ඒකට හේතුව, තමන් බලාපොරොත්තු වන සමහර දේවල් ඉෂ්ට සිද්ධ වෙන බව තමන්ට පෙනීම. නමුත් ඒ හැම දෙයක්ම හේතුඵල අනුව සිද්ධ වෙනව මිසක් කාගෙවත් කැමැත්ත ඉෂ්ට කරන්න සිද්ධ වෙන දේවල් නෙවෙයි. කවුරු හරි එහෙම හිතාගෙන ඉන්නවනම්, ඒකට කෙටියෙන් අවිද්‍යාව කියල කියනවා.

යමක් තමන් බලාපොරොත්තු වුන ආකාරයට සිද්ධ වුනොත් බොහෝ අය රැවටෙනවා, ඒ අයගෙ කැමැත්ත නිසා තමයි ඒක වුනේ කියල. නමුත් විමර්ශනය කරල බැලුවොත් පේනවා, කලින් හෝ ඒ මොහොතේ හෝ ගොඩනගපු හේතු නිසයි ඒක වුනේ කියල. ඒ හේතු තමන් හෝ තමන් වෙනත් පිරිසක් සමග එකතු වෙලා ගොඩනැගුව වෙන්නත් පුළුවන්. අනෙක් කාරණය තමයි, තවත් සමහරු සිද්ධ වෙච්ච දේට කැමති වෙනවා. පෙරලිච්ච පැත්ත හොඳයි කියල කතාවට කියනව වගේ. හොඳ අතට පෙරළුනොත් හොඳයි. නැත්නම් ඉතින් දෙස් දෙවොල් තිය තියා පොළොවෙ පස් කනවා. ඒ කියන්නෙ අපේ කැමැත්තට පාලනය කරන්න පුළුවන් ලෝකයක් නෑ, අපේ කැමැත්ත ඉෂ්ට කරන ලෝකයක් නෑ.

ලෝක සත්වයා කැමැත්තක් ඇති කරගන්නවා. මොකක්ද කැමැත්ත? ඉෂ්ට, ප්‍රිය දේවල් ඇසුරු කරන්න. අනිෂ්ට, අප්‍රිය දේවල් එනවට, ඒවා පරිහරණයට කැමති නෑ. බලාපොරොත්තුව තමයි කැමැත්තට අනුව ලෝකය ගොඩනගන්න. නමුත් ලෝකය ගොඩනැගෙන්න හේතුවක් තියෙනවා. ඒ හේතුවේ ඵලය විදියට ලෝකය ගොඩනැගෙනව මිසක් ඒකට අපේ කැමැත්ත හේතු වෙලා නෑ. නමුත් ලෝකය ගොඩනැගෙන්නෙ අපි හදපු හේතු අනුවම තමයි. වෙන කවුරුවත් අපි වෙනුවෙන් ලෝක මවන්නෙ නෑ. එතකොට හේතුව වෙනයි, කැමැත්ත වෙනයි.

ජාතියක් පහල වීම හේතුවෙන් ජරාවක්, මරණයක් විද්‍යමාන වෙනවා. ජරාවක්, මරණයක් එනවට අපේ කැමැත්තක් නෑ. නොඑනවට කැමතියි. ඒ



වුනාට අපේ කැමැත්ත හේතු කරගෙන ජරාව, මරණය නවත්වන්න ක්‍රමයක් නෑ. ජාතියක් ගොඩනැගුන නම් ජරාව, මරණය ඒකාන්තයෙන් උරුමයි. අපේ කැමැත්ත, නොමැරී ජීවත්වෙන්න වුනත් වෙන කරන්න දෙයක් නෑ. එහෙනම් අපේ බලාපොරොත්තුව මොකක්ද? සත්‍යයට මුහුණ දෙන්නෙ නැතුව සත්‍යය අභිබවා යන්න. ඒක හරි යයිද? අද වෙනකල් ලෝකයේ පහල වෙච්ච මොන ජගතෙක්වත් එහෙම කරන්න සමත් වෙලා නෑ.

හේතුවෙන් ඵලයක් හටගන්නව දැකල ඒකට අකමැති නම්, ඒ හේතුව නිරෝධ කරන්නෙ නැතිව ඒක නවත්ව ගන්න වෙන හේතුවක් හොයනවා. ඒ තමයි ලෝක සත්වයාගෙ ස්වභාවය. ඉතින් හරි යයිද? කවුද මේ කාරණය ලෝකයට හෙළිදරව් කළේ?

"යේ ධම්මා හේතුප්පභවා
තේසං හේතුං තථාගතො ආහ,
තේසඤ්ච යෝ නිරෝධෝ
ඒවංවාදී මහාසමණෝ"ති

මහා ශ්‍රමණයාගේ, එහෙම නැත්නම් මහා විද්‍යාඥයාගේ වාදය මොකක්ද?

යම් ධර්මයක්, යම් හේතුවක් නිසා පහල වෙනවද, ඒ හේතුව තථාගතයන් වහන්සේ වදාරනවා. අන්න ඒ හේතුව නිරෝධ කළොත්, උදා නොකළොත්, නිර් උදා කළොත්, ඒ ඵලය නැවත හට නොගන්නවා හැර, ඵලයෙන් මිදෙන්න වෙන ක්‍රමයක් නෑ. නමුත් අද ලෝකයා උත්සාහ කරන්නෙ, දුකට හේතුව තමන් ළඟ තියාගෙන දුක් ඵලයෙන් මිදෙන්න. බුදු දහම තුලින් හොයන්නෙ ලෝකය තුළ දුකක් නැතුව ඉන්න ක්‍රමයක්, තැනක්. එහෙම ක්‍රමයක්, තැනක් ලෝකයේ නෑ කියල පෙන්වපු බුද්ධ දේශනාව දන්නෙ නෑ. නැත්නම් අවබෝධ වෙලා නෑ.

ජරාවයි, මරණයයි නැති කරන්න වෛද්‍යවරු තවමත් උත්සාහ කරනවා. බෙහෙත් හොයනවා. දන්න දා ඉඳල ඕක කරන්න දඟලනවා. අන්තිමට ඒ පුද්ගලයොත් අවසානයේ දුක් විඳල මැරිල ගියා මිසක් වෙන කර ගත්තු දෙයක් නෑ. එතනින් මැරිල තවත් තැනක උප්පත්තිය ලබල නැවතත් ජරා, මරණ ගොඩක්ම උරුම කර ගන්නවා. මොකක්ද හේතුව? ජාතියක් හේතුවෙන් ජරා, මරණ හටගන්නවා. ජාති නිරෝධයෙන් ජරා, මරණ හට නොගන්නවා හැර වෙන ක්‍රමයක් නෑ. මේ තමයි බුදු දහම.

අද කවුරු හරි ලෙඩ වෙලා, එහෙම නැත්නම් වයසට ගිහින් මැරෙන කොට අශ්‍රතවත් පෘථජ්ජනයා ඒකට නොයෙක් හේතු කියනවා. ☞

"දොස්තර හරියට බෙහෙත් කළේ නෑ. වෙන දොස්තර කෙනෙක් ළඟට ගියානම් තවම ජීවත් වෙනවා. ළමයි හරියට සැලකුවේ නෑ. වෙලාවට රෝහලට ගෙනිච්ච නම් බේරගන්න තිබුණා". තමන්ගෙ මතවලට අනුව ඔය වගේ හේතු දක්වනවා. නමුත් ඇත්ත මොකක්ද? ජාතියක් හටගත්ත නම් ජරා, මරණ අනිවාර්යයි. කවුරු කොහොම කිව්වත් අවසාන ප්‍රතිඵලය මරණය. ඒ ජරාවට, මරණයට හේතු වෙච්ච ජාතියක් උරුමකරගත් කෙනෙකුට ඒකෙන් ගැලවීමක් නෑ. ඒ කියන්නෙ මරණයට හේතුව ජාති උදා වීම හැර වෙන හේතුවක් නෑ. ලෝකය නිච්චයි, සුඛයි, අත්තයි කියල වැළඳගත් ලෝක සත්ත්වයා අසහනයෙන් පෙළෙමින් හොයන්නෙ කොහොමහරි ජරා, මරණ ඉක්මවන ක්‍රමයක්. හේතු ඵල ධර්මතාවය තේරුම් නොගන්න තාක් ඒකට විරුද්ධව කරුණු හොයනවා. තමන්ගෙ කැමැත්තට අනුව ජරා, මරණ වෙනස් කරගන්න හදනවා. ජරා මරණං භික්ඛවේ අනිච්චං කිව්වෙ ජරා, මරණ අපේ කැමැත්තට නෑ කියන එක. එහෙම නැතුව ජරා, මරණ අනිත්‍යයි කියන එක නෙවෙයි. ජරා, මරණ කොහොමත් නිත්‍යයි. ඒ කියන්නෙ ඒවාට ස්ථිර වශයෙන්ම මුහුණ දෙන්න සිද්ධ වෙනවා.

ජරා, මරණ එපා නම් ඒකට හේතුව වන ජාතියෙන් මිදෙන්න ඕන. ජාතිය කියන එක නිකම්ම අහේතුකව තමන්ගෙ කැමැත්තට පහල වෙන්නෙ නෑ. භව හේතුවෙන් ජාති පහල වෙනවා. තිරිසන් ජාතිය තමන්ට එපා නම්, තිරිසන් භවෙන් මිදිල ඉන්නව හැර වෙන ක්‍රමයක් නෑ. ප්‍රේත ජාතිය තමන්ට එපා නම්, ප්‍රේත භවෙන් මිදිල ඉන්නව හැර වෙන ක්‍රමයක් නෑ. පරහේ + අත - ප්‍රේත. තමන්ට පුළුවන්කම තියෙද්දි අනුන්ට අත පාල ජීවත් වීමෙන් මිදෙන්න ඕන. අසුර ජාතිය තමන්ට එපා නම්, අසුර භවෙන් මිදිල ඉන්නව හැර වෙන ක්‍රමයක් නෑ. තමන්ට සූරත්වය තියෙද්දි අනුන්ගෙන් වැඩ අරගෙන අසුරයෙක් වගේ ජීවත්වන භවෙන් මිදිල ඉන්න ඕන. යම් දුක්ඛ ජාතියක් එපා නම්, ඒ දුක්ඛ ජාතිය හටගන්න හේතුවන භවෙන් මිදිල ඉන්නව හැර වෙන ක්‍රමයක් නෑ. එහෙම නැතුව තමන්ගෙ කැමැත්තට ජාති පහල කරගන්න විදියක් නෑ. තමන්ගෙ කැමැත්තට ජාති පහල කරගන්න ක්‍රමයක් තිබුණ නම් සතර අපායක් හටගන්න විදියක් නෑ. මොකද කවුරුවත් කැමැත්තෙන් සතර අපායට යන්නෙ නෑ.

සියලු ජාති අසාරයි, කිසිම ජාතියක් මට එපා කියල නිගමනය කරපු කෙනා, මේ ජාති තමන්ට එපා කිව්වට හරියන්නෙ නෑ, තමන්ගෙ කැමැත්තට මේක කරන්න බෑ කියල දකිනවා. තමන්ගෙ කැමැත්ත නෙවෙයි ජාතියට හේතුව. මොකක්ද හේතුව? භවය නැත්නම් ජාති හටගන්නෙ නෑ. කැමැත්ත ඇති, නැති කතාවක් මෙතන නෑ. ඒ ජාති තමන්ට එපා නම් භවයෙන් මිදෙන්න ඕන. හැබැයි මේ න්‍යාය ධර්මය අවබෝධ කරගන්නෙ දහම් ඇස පහල වෙච්ච කෙනා.

යම් කිසි භවයක් හට ගන්න නම් ඒකටත් හේතුවක් තියෙනවා. ඒ භවයට අනුකූල යම් උපාදානයක් ඇත්ද, බැඳීමක් ඇත්ද, අන්න ඒ බැඳීම මනසින් අයින් කරගන්න ඕන. උපාදාන නිරෝධ කළොත් භව නිරෝධ වෙනවා හැර, අනේ මට මෙහෙම අත්භවයක් එපා කිව්වට හරියන්නෙ නෑ. යම් භවයකට අදාළ ධර්මය උපාදාන කළොත් තමයි ඒ භවය හටගන්නෙ. ඒ ධර්මය උපාදාන නොකළොත් ඒ භවක් හටගන්න විදියක් නෑ. මේකයි න්‍යාය ධර්මය. පටිච්ච සමුප්පාදය තුලින් සිවු අරිසස් දකින්නෙ මේ විදියට. ඒ ඒ ගති ලක්ෂණ අත්හැරගන්න බැරිව, ඒ ඒ ගති ලක්ෂණවලට බැඳුනම ඒ ගති යම් භවකට අයිතිද, ඒ භව ඒ පුද්ගලය ළඟ නැගෙනවා. එහෙනම් උපාදාන පච්චයා භවෝ කියන සිද්ධාන්තයෙන් ඒ පුද්ගලය මිදිල නෑ. කැමැත්ත අකමැත්ත කෙසේ වුනත් උපාදානයට අනුකූල භවය ලබනවා.

එතකොට කොහොමද උපාදාන හටගන්නෙ? ඒකත් හේතුවක් ඇතුවමයි සිද්ධ වෙන්නෙ. යම් ධර්මයක ඇළුනොත්, තණ්හා වුනොත් තමයි උපාදාන හටගන්නෙ. එහෙම නැත්නම් උපාදාන වෙන්න විදියක් නෑ. තණ්හාව හේතුවෙන් උපාදාන හටගන්නවා හැර වෙන ක්‍රමයක් නෑ. එතකොට බැඳීමෙන් මිදෙන්න නම් ඇලීමෙන් මිදෙන්න ඕන. ඒ කියන්නෙ උපාදාන නිරෝධ කරන්න නම් තණ්හා නිරෝධ කරන්න ඕන.

එහෙනම් තණ්හාව කියන්නෙ මොකක්ද? ඒකත් හේතුවක ඵලයක්. වේදනා යම් තැනක නැත්නම් තණ්හාවට හේතු නෑ. ඒ ඒ දේ ප්‍රියයි මනාපයි යහපතයි කියල සුඛ වේදනාවක් ලබනව නම්, ඒ සුඛ වේදනාවට රාගයෙන් බැඳිල තණ්හා වෙලා එතැන ඇලෙනවා. සැප ස්වභාවයක් ඇති නිසාම, ප්‍රිය මධුර ස්වභාවයක් ඇති නිසාම ලෝක සත්ත්වයා ඇලෙනවා.

එතකොට කොහොමද වේදනාවක් හටගන්නෙ? ඒකත් හේතුවක ඵලයක්. යම් වේදනාවකට හේතුවන යම් ස්පර්ශයක් ඇත්ද, ඒ ස්පර්ශය නිසා ඒ වේදනාව පහල වෙනවා. සැප වේදනාවට හේතුවන ස්පර්ශයක් ලබමින්, වේදනා මට එපා කිව්වට හරියන්නෙ නෑ. ඒක කැමැත්තට කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. යම් වේදනාවක් එපා නම් ඊට අදාළ ස්පර්ශයෙන් මිදෙන්න ඕන. ස්පර්ශයක් නිකං අහේතුකව හටගන්නෙ නෑ. ඇස රූපයට පටිච්ච වෙලා, කන ශබ්දයට පටිච්ච වෙලා, නාසය ගන්ධයට පටිච්ච වෙලා, දිව රසයට පටිච්ච වෙලා, කය පොට්ඨබ්බයට පටිච්ච වෙලා, මන ධර්මවලට පටිච්ච වෙලා සළායතන හදා ගත්තොත් තමයි ස්පර්ශය හට ගන්නෙ.

අවිද්‍යාවෙන් සංඛාර කරල අදාල විඤ්ඤාණ හදාගෙන, ඒ හේතුවෙන් නාම රූප හටගෙන, ඒ හේතුවෙන් සළායතන හට ගත්තට පස්සෙ තමයි අවිද්‍යා සහගත ස්පර්ශයක් හෙවත් සංස්පර්ශයක් හටගන්නෙ. සංස්පර්ශයක් හටගත්තට පස්සෙ ඒකෙන් සංඵස්සජා වේදනා හටගන්නවා. සංස්පර්ශයෙන් ජනිත කරන්නෙ සංඵස්සජා වේදනා. සංඵස්සජා වේදනා කියන්නෙ විපාක වේදනා නෙවෙයි. විපාක වේදනා නිරෝධ කරන්න බෑ. **විපාක සැප වේදනාවලට රාගයෙන් බැඳිල, විපාක දුක් වේදනාවලට ද්වේශයෙන් බැඳිල, විපාක උපේක්ෂා වේදනාවලට අවිද්‍යාවෙන් බැඳිල, විපාක වේදනාවේ නැති, නමුත් අපි පටිච්ච සමුප්පන්නව හදාගන්න වේදනාවට තමයි සංඵස්සජා වේදනා කියන්නෙ.** ඒ නිසා තමයි අවිද්‍යාවෙන් හට ගන්න සංඵස්සජා වේදනා නිරෝධ කරන්න පුළුවන් වෙන්නෙ. මොකද ඒක අපි හදා ගත්ත බොරුවක්, භූතයක් මිසක් සත්‍යයක් නෙවෙයි.

උදාහරණයකින් පහදනවනම්, අපි ඇස් දෙක පියාගෙන ඉන්න කොට කවුරු හරි අපේ ඔළුව අතගානවා. එතකොට අපිට සැප වේදනාවක් දැනෙනවා. ඒක කාටත් දැනෙන විපාක වේදනාවක්. රහතන් වහන්සේටත් ඒක දැනෙනවා. දැන් ඒ දැනෙන වේදනාව ගණනය කළොත් ඒකක සියයක් කියල හිතමු. දැන් හෙමින් ඇස් ඇරල බලන කොට පේනවා, ලස්සන ගැහැණු ළමයෙක් තමයි මේ ඔළුව අතගාන්නෙ කියල. දැන් මොකද වෙන්නෙ? අර ඒකක සියයෙ වේදනාව එකපාරටම වැඩි වෙනවා. තමන්ගෙ රාගයේ ප්‍රමාණය අනුව සමහරවිට දැන් ඒකක ☞

දාහකින් විතර ඒ සැප වේදනාව වැඩි වෙන්නත් පුළුවන්. මේකට තමයි සංඵස්සජා වේදනාව කියන්නෙ. තමන් බැඳිල ඉන්න දෘෂ්ටිය අනුව ඒක අඩු වැඩි වෙන්න පුළුවන්. ඒ කියන්නෙ පුද්ගලයගෙන් පුද්ගලයට වෙනස් වෙන්න පුළුවන්. ඒ වගේම ඒ ඔළුව අතගාපු කෙනා වයසට ගිහින් වැහැරිච්ච අවලස්සන කෙනෙක් නම්, දැන් අර ඒකක සියයෙ වේදනාව එක පාරටම අඩු වෙනවා. මේක ඉබේටම අඩු වැඩි වෙනව නෙවෙයි. තමන්ගෙ දෘෂ්ටිය අනුව තමන්ම පටිච්ච සමුප්පන්නව වෙනස් කර ගන්නවා. හැබැයි පෘතජ්ජනයෙකුට හිතෙන්නෙ මේක ඉබේටම සිද්ධවෙන දෙයක් කියල. නැත්නම් බාහිරින් ආපු අරමුණු නිසා ඉබේම හට ගන්නව කියල. මේකට පටිච්ච නානත්වය කියල කියනවා. ඒ වගේම දැන් මේ ඔළුව අතගැමට ලක් වෙන කෙනා ගැහැණු ළමයෙක් වෙලා, ඔළුව අතගාන කෙනා කඩවසම් තරුණයෙක් වුනා නම් ඒත් මේ විදියටම තේරුම් ගන්න ඕන.

තවත් උදාහරණයකින් මේ කාරණය පහදනවනම්, යම් කිසි තරහකාරයෙක් අපේ කම්මුලට පාරක් ගැහුව කියල හිතමු. එතකොට ඇතිවන කායික වේදනාව වැඩිම වුනොත් මිනිත්තු 5 ක් තියෙයි. හැබැයි තවත් දවසකින් දෙකකින් යාලුවෙක් මුණ ගැහිල ඒ සිද්ධිය නැවත මතක් කළොත් හොඳටම කේන්ති යනවා. ඒත් එක්කම මහ දුක් වේදනාවක් එනවා. ඒක එන්නෙ හිතට. දවසකට දෙකකට පෙර සිද්ධ වෙච්ච සිද්ධියකින් දැන් කොහොමද වේදනාවක් ආවෙ? අර එදා ගහපු පහර නිසා ආපු කායික වේදනාව සමනය වෙලා සැහෙන කාලයක් ගිහින්. ඒත් දැන් කොහොමද දුක් වේදනාවක් එන්නෙ? ඒ තමයි කලින් ආපු විපාක දුක් වේදනාවට ද්වේශයෙන් පටිච්ච වෙලා හදා ගත්ත සංඵස්සජා වේදනාව.

ඉතින් මේ විදිහට සංඵස්සජා වේදනාවට තණ්හා වෙලා උපාදාන ගොඩනගාගෙන, භවයක් හටගෙන ජාති පහළ වුනාට පස්සෙ ජරා, මරණවලින් බේරෙන්න විදියක් නෑ. මේක හේතුඵල ක්‍රියාදාමයක් මිසක් අපේ කැමැත්තට හසුරුවන්න පුළුවන් එකක් නෙවෙයි.

ඔන්න ඔය විදියට තමයි අනන්ත සංසාර ගමනක් අපිට යන්න වෙලා තියෙන්නෙ. අනිච්ච, දුක්ඛ, අනත්ත වටහගෙන ලෝකයේ අසාරත්වය දැකල, අවිද්‍යා සහගත සංඛාර හෙවත් අභිසංඛාර නිරෝධ කරනකල් අපිට ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසවලින් බේරෙන්න ක්‍රමයක් නෑ. අපේ කැමැත්ත අකමැත්ත මොකක් වුනත් පටිච්ච සමුප්පාද නිරෝධයෙන් නිවන් දකිනවා හැර, දුකෙන් මිදෙන්න වෙන ක්‍රමයක් නෑ.

යම් හේතුවක් නිසා ඵලයක් හටගන්න හැටි දැකල, හේතු නිරෝධයෙන් ඵල නිරෝධ කරන මූල ධර්මය දැනගෙන ඵලයෙන් මිදෙන්න ඕන. හයියෙන් අත් පුඩියක් ගහල, හිමින් සද්දෙ පිටවේවා කිව්වට හරියන්නෙ නෑ. එහෙම නැත්නම් හිමින් අත් පුඩියක් ගහල, හයියෙන් සද්දෙ පිටවේවා කිව්වට හරි යන්නෙ නෑ. එහෙමත් නැත්නම් අත් පුඩියක් ගහල, සද්දෙ පිට නොවේවා කිව්වට හරි යන්නෙත් නෑ. හේතුව යම් සේද ඵලය ඊට අනුකූලයි. අපට කරදර එන්න එපා කියනවා. හැබැයි කරදරවලට හේතුව දැකල ඒක අයින් කරන්න කැමති නෑ. යම් සුවයක් ලැබේවා කියල පැතුවට ඒක ලැබෙන්නෙ නෑ. ඒකට අදාළ හේතුව ක්‍රියාත්මක කළොත් ඒක ලැබෙනවා හැර, කැමැත්තට ලබා ගන්න විදියක් නෑ. පටිච්ච සමුප්පාද ධර්ම නියමය මේ විදියට වටහ ගන්න ඕන.

සංඛාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ කරනවා හැර, අනේ මට මෙහෙම හිතක් නොවේවා කිව්වට හරියන්නෙ නෑ. රාගයෙන් කිළුටු වෙච්ච හිතකින් මිදෙන්න නම්, රාග සහිතව අවිද්‍යාවෙන් සාරයි වටිනවා කියන දෘෂ්ඨියෙන් අරගෙන කරන සංඛාර වැඩපිළිවෙල නවත්වන්න ඕන. මේ මූල ධර්මය දැකල තමන් මිදෙනවා හැර, වෙන කෙනෙකුට තව කෙනෙක්ව මුදවන්න බෑ. මොකද තමන් භාවෙන තැන් හොඳටම දන්නෙ තමන්. ද්වේශ හිතක් නැති කරගන්නෙත් එහෙමයි. ද්වේශ හිතකින් එන ආදීනව දැකල, වෙන්වීමේ ආනිසංස දැකල ඒකෙන් මිදෙන්න ඕන. අහවල් හාමුදුරුවො කිව්ව නිසාවත්, අහවල් මහත්තය කිව්ව නිසාවත් නෙවෙයි. තමන් යථාවබෝධය තුලින් මිදෙන්න ඕන. නිවන් මාර්ගය කියන්නෙ ප්‍රායෝගික වැඩ පිළිවෙලක්. ඒක නිකං හිටියට ලැබෙන්නෙ නෑ. පත පතා හිටිය පළියට ලැබෙන්නෙත් නෑ. සත්‍යය දැකල සම්මා දිට්ඨියට පත් වෙලා, කැමැත්තෙන් හෝ අකමැත්තෙන් මේ වැඩ පිළිවෙල කරගෙන ගියොත් අවසානයේ ඵලය ලැබෙනවා.

බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා අඬපල්ලා, මොරදීපල්ලා, දුක්වෙයල්ලා, ඒත් හේතුවට ඉඩ දෙන්න එපා කියල. ඔය කාම ආස්වාද භුක්තිය නොලැබීම නිසා ඇතිවන අසහනය තමයි දුක වෙහෙස විදියට දැනෙන්නෙ. ඒකට ඉඩ දෙන්න එපා. ටික දවසක් යනකොට විඤ්ඤාණයට ආහාර නොදීම නිසා විඤ්ඤාණය නිරෝධ වෙනවා. එතකොට මනස නැවතත් වද දෙන්නෙ නෑ. රාග සහගත, ද්වේශ සහගත, මෝහ සහගත සිතිවිලි, ක්‍රියා, වදන් තුලින් තමයි විඤ්ඤාණවලට ආහාර ලැබිල බලවත් වෙන්නෙ. ඒ ආහාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධ වෙලා මේ විදියට ප්‍රතිඵල ලැබෙනවා. අසහනකාරීත්-වයෙන් මිදිල නිදහස් වෙනවා. මේකයි ක්‍රමය.

මේක කාටවත් කියල කරවගන්න බෑ. තව කෙනෙකුට මාර්ගඵල අවබෝධ කරල දෙන්න බෑ. මග අහගෙන තමන් කරගන්න ඕන. අනුගමනය තියෙන්නෙ තමන් අතේ. වැඳ වැඳ පුද පුද හිටියට හරියන්නෙ නෑ. ඒක එපා කියනව නෙවෙයි. නමුත් ඒක එක අංශයක් විතරයි. හැබැයි ඒවා කලින් නොකර තිබුණ නම්, මේ අවබෝධය ලබා ගන්න හේතු වාසනා ලැබෙන්නෙත් නෑ. නමුත් ඒ හේතු වාසනා ලැබුනට පස්සෙ ඉක්මනින් තමන්ගෙ වැඩේ කරගන්න එක තමයි උතුම් වෙන්නෙ. "ඉක්මන් කොටයි"කියල කියන්නෙත් මේකට. බල බලා ප්‍රමාද වුනොත් සසර ගමන තව තවත් දික් වෙනවා. ඒ කියන්නෙ දුකක්ම ගොඩනගනවා.

අද "ඉක්මන් කොටයි" කියන කාරණය ලෞකික වශයෙන් ගන්නෙ, ඉක්මන් වෙන්න ගියොත් විනාස වෙයි, වැඩක් නැති වෙයි කියන අර්ථය පෙන්වන්න. උදාහරණයක් විදියට අධික වේගයෙන් රිය පදවගෙන ගියොත් හදිසි අනතුරකට මුහුණ පාල විනාස වෙන්න පුළුවන්. නමුත් පරමාර්ථ අර්ථයෙන් ගත්තොත්, ඉක්මනින් ආර්ය මාර්ගයේ ගමන් කළොත් සසර ගමන කෙටි වෙනව කියන කාරණය හොඳට ගැලපෙනවා. ඒ නිසා හැකි ඉක්මනින් උත්සාහ වීරිය කරල, දැකපු නිවන පූර්ණ කරගන්න ඕන. මේ විදියට අනිච්චතාවයෙන් පූර්ණ වශයෙන්ම මිදිල අනුපදිසේස නිර්වාණ ධාතුවෙන් පිරිනිවන්පාන දවසට, කැමතිසේ නොපවතින සියලු දෙයින් නිදහස්.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**චතුර හිඳුරංගලගේ**

**නුගේගොඩ**

# තණ්හා සමුදය

''අපි මේ සසරට බැඳිල ඉන්නෙ, අනන්ත සසර දුක් විඳින්නෙ තණ්හාව නිසානෙ! අනේ මේ තණ්හාව දුරුකර ගන්න බැරිකම නිසානෙ! මම මේ උත්සාහ කරන්නෙ වීරිය කරන්නෙ කොහොම හරි මේකෙන් නිදහස් වෙන්න'' ලෝක සම්මත බෞද්ධයන් අතර මෙහෙම හිතන අය හුඟක් ඉන්නවා. ඒ අයගෙ උත්සාහයේ තරමට ප්‍රතිඵල ලැබෙන්නෙ නැත්තෙ ඇයි කියල විමසල බලන්න ඕන.

තණ්හාවෙන් නිදහස් වෙන්න නම්, ඉස්සෙල්ලම තණ්හාව කියන්නෙ මොකක්ද කියල දැනගන්න ඕන, තණ්හා සමුදය දැනගන්න ඕන, තණ්හා නිරෝධය දැනගන්න ඕන, තණ්හා නිරෝධ කරන මාර්ගය දූනගන්න ඕන. තව විදියකින් කියනව නම්, තණ්හාව පිළිබඳ සිවු අරිසස් දූනගන්න ඕන. තන්හි තන්හි ( තැන තැන) හාවෙනවා කියන අර්ථයෙන් (තැන්+හා) තණ්හා කියනවා. ආස්වාදනීය රූප බලන්න පුළුවන් නිසා ඇසට තණ්හා වෙනවා. ආස්වාදනීය රූපයට තණ්හා වෙනවා. ඇසේත් රූපයේත් ස්පර්ශයෙන් හටගන්නා චක්ඛු විඤ්ඤාණයට (රූපවල ආස්වාද විඳිය හැකි යමක් ඇත කියන විකෘති දූනීමක්),චක්ඛු සම්ඵස්සයට(ඒ ආස්වාදය ලබා ගැනීමට කැමැත්තෙන් බැඳිල, හිතින් කයින් වචනයෙන් ඒ රූපය ස්පර්ශ කිරීම), චක්ඛු සම්ඵස්සජා වේදනාවට( ඒ සංඛාර හේතුවෙන් සැප දුක් උපේක්ෂා වශයෙන් ලැබෙන විඳීම්) රාගයෙන් මෝහයෙන් තණ්හා වෙනවා.

ඇසට, රූපයට, චක්ඛු විඤ්ඤාණයට, චක්ඛු සම්ඵස්සයට, චක්ඛු සම්ඵස්සජා වේදනාවට තණ්හා වුනා වගේ කනට, ශබ්දයට, සෝත විඤ්ඤාණයට, සෝත සම්ඵස්සයට, සෝත සම්ඵස්සජා වේදනාවට තණ්හා වෙනවා. නාසයට, ගන්ධයට, ඝාන විඤ්ඤාණයට, ඝාන සම්ඵස්සයට, ඝාන සම්ඵස්සජා වේදනාවට තණ්හා වෙනවා. දිවට, රසයට, ජිව්හා විඤ්ඤාණයට, ජිව්හා සම්ඵස්සයට, ජිව්හා සම්ඵස්සජා වේදනාවට තණ්හා වෙනවා. කයට, පොට්ඨබ්බයට, කාය විඤ්ඤාණයට, කාය සම්ඵස්සයට, කාය සම්ඵස්සජා වේදනාවට තණ්හා වෙනවා. මනට, ධර්මයන්ට, මනෝ විඤ්ඤාණයට, මනෝ සම්ඵස්සයට, මනෝ සම්ඵස්සජා වේදනාවට තණ්හා වෙනවා.

අනන්ත සසරෙ අපි මේ තිස් පොලට බැඳිල තණ්හාවෙන් රැස්කරගෙන ආව කර්ම පොදිය බරයි. හිතුව තරමින් ඒකෙන් නිදහස් වෙන්න බෑ. ඇස, කන... ආදී ඉඳුරන්ට



ස්පර්ශවන රූපවල යම් ප්‍රිය මධුර ස්වභාවයක් ඇත්ද, මේ තණ්හාව එහි උපදිනවා, එහි පවතිනවා, එහිම ප්‍රහීන වෙනවා, එහිම නිරුද්ධ වෙනවා කියල පෙන්වා තියෙනවා (පටිසම්භිදා මග්ගප්‍රකරණය - 1වෙනි කාණ්ඩයේ 75පිටුව). මේ තණ්හා වෙන්නෙ මොනවටද? අපට එදිනෙදා ජීවිතය පවත්වාගෙන යන්න උවමනා යම් යම් දේවල් ටිකක් තියෙනවා. අඳින්න ඇඳුමක්, ජීවත් වෙන්න ආහාර පාන ටිකක්, ලෙඩට බේතක්, වැස්සෙන් පින්නෙන් කෘමි සතුන් සර්පයන් ආදීන්ගෙන් කරදරයක් නැතිව ඉන්න නිවසක්. මේ ටිකට ඡන්දරාගයෙන් බැඳුනම, ඒ අත්‍යවශ්‍ය දේවල් ටික වටේට තවත් අවශ්‍යතා රැස් වෙනවා.

හිරි කොපීන පටිච්ඡාදනත්‍ථං කියල හඳුන්වන - ලජ්ජා ස්ථාන කෙරෙහි ඇලීම් බැඳීම් වලකනු පිණිස (විලි වසාගන්න) අඳින ඇඳුමට මෝස්තරයක් (මෝහ + ස්ථරයක්) ඕන වෙනවා. මෝස්තර ලෝකය දිගේ තණ්හා වෙලා අන්තිමට විලිවසා ගැනීම අමතක වෙලා, ලජ්ජා බය ස්ථාන මතුකර පෙන්වන, ඇවිදගෙන යන්නත් අපහසු තරම් ශරීරයට තද, උනුසුම් වෙලාවට දහදිය උතුරන, අඳුරු වෙලාවට අනෙකාට තමාව නොපෙනෙන වර්ණවලින් යුත් ඇඳුම් දහස් ගණනක් මුදල් වියදම් කරල ගන්නවා. ළමයින්ට හොඳට ඉඩ කඩ තියෙන, සැප පහසු, කාර්යාලයට වැඩපොලට ආසන්න, දරුවන් ආවාහ විවාහ කටයුතු කරන කොට හොඳ වැදගත් පෙනුම ඇති, ඒ නිවසට ගැලපෙන ගෘහ භාණ්ඩ... මේ විදියට දිගට දිගට තණ්හාවෙන් බැඳිල, අන්තිමට වැස්සෙන් පින්නෙන් කෘමි සර්ප ආදීන්ගෙන් ආවරණය වීම අමතක වෙලා, මැද මිදුලක් තියෙන, හතර අතින් ගෙට පිණි පොද වැටෙන, කාමරයකින් කාමරයකට මාරු වෙන්න විනාඩි තුන හතරක් ගතවෙන, තට්ටු ගණනක මන්දිරයක් හදනවා. ඒකෙ ආදීනව විස්තර කරන්න අවශ්‍ය නෑ. මීට පෙර කලාපවලින් විස්තර කරල තියෙනවා.

බඩගින්න, පිපාසය නිවා ගන්න ආහාර පාන ටිකක අවශ්‍යතාවය පැත්තකට දාල, පොඩි වෙනසකටත් එක්ක අපි අද පිටට යනව කියල, එක කෑම පිඟානකට රුපියල් අටසියයක්, දාහක්, සමහර විට ඊටත් වැඩිය මිලක් ගෙවල, රසයට තණ්හා වෙලා ලෙඩ ගොඩක් බඩට දාගෙන එනවා. ලෙඩට බේතක් කියන එකත්, නම ගිය වෛද්‍යවරයෙක්, නමගිය රෝහලක්... වගේ දේට තණ්හා ☞

වෙලා බෙහෙත් වෙළඳුන්ගෙ හිරකාරයෙක් බවට පත් වෙනවා. මේ අත්‍යවශ්‍ය දේවල් ටික වටේට රාගයෙන්, මෝහයෙන් තණ්හා වෙච්ච ඡන්දරාගය දුරු කළානම්, ඒ හේතුවෙන් සකස්වුන දුකෙන් නිදහස්.

ඇසට කැමැත්ත ඇති තාක් ඇසක් ලැබෙන එකෙන් නිදහස් වෙන්න බෑ. ඇසක් ලැබුනම ඇස අපට විධාන දෙනවා. මාව සෝදන්න, සුවඳ කරන්න, හැඩ වැඩ කරන්න, ලෙඩ වුනාම බේත් කරන්න, කැමති රූප ලං කරගෙන බල බලා ඉන්න.... මේ කියන හැම දේම දාසයෙක් වගේ කරන්න වෙනවා. මොන තරම් කියන කියන දේ කළත් ටිකෙන් ටික දිර දිරා යනවා, ලෙඩ වෙනවා, පෙනීම දුර්වල වෙනවා. මේ විදියට කන, නාසය, දිව, කය, මන කියන ඉඳුරන් සියල්ලම අපට අණ කරනවා. ශබ්ද ආස්වාද දෙන්නම්, ගන්ධ ආස්වාද දෙන්නම්, රස ආස්වාද දෙන්නම්... ආදිය කිය කියා සෝදන පිරිසිදු කරන සියලු බැල මෙහෙවරකම් කරව ගන්නවා. නමුත් අපි හිතාගෙන ඉන්නෙ ඇස මගේ, මමයි අයිති කාරයා කියල. ඒත් කටයුතු සිද්ධ වෙන ආකාරය නුවණින් බැලුවොත් තමයි වැටහෙන්නෙ, මගේ නම් මම දාසකම් කරන්න ඕනද, මට දාසකම් කරන්න ඕනද කියන කාරණය. මම කැමති විදියට මගේ ඇසට කබ කඳුළු නොඒවා, ලෙඩ නොවේවා, ලස්සන රූපම පෙනේවා, වැහැරී වැනසී නොයාවා කියල අපි අණ කළාට, ප්‍රාර්ථනා කළාට එසේ නොවී පවතිනවද? එහෙම කැමති විදියට වෙන්නෙ නෑ. කැමැත්ත ඉෂ්ට කරන්නෙත් නෑ. එහෙනම් ඒ ඇස මගේද? මගේ කියල පිළිගන්න සුදුසුද? මේ අනුසාරයෙන් කන, නාසය, දිව, කය, මන කියන, මිතුරු වෙසින් පෙනී ඉන්න මායා කාරයිනුත් "මගේ" කියල පිළිගන්න සුදුසු නෑ, තණ්හා වෙන්න සුදුසු නෑ. තණ්හා වුනොත් දාස කම් කරන්න වෙනවා.

ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉඳුරනුත්, ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන කාම ලෝකයත්, අවිද්‍යාවත් තණ්හාවත් හේතුවෙන් මනෝ මූලිකව ගොඩනැගුණ සතර මහා ධාතූන්ගේ සනීභවනයෙන් විද්‍යමාන වන මායා රූප සම්පිණ්ඩනයක්. ඒවාට ඡන්දරාගයෙන් බැඳිල ලබන්නාවූ යම් ආස්වාදයක් ඇත්නම් ඒකත් මායාවක්මයි. ඒ නිසා ආස්වාදයන් විඳීම කියන්නෙ මුලා සහගත මායාවක්. මනසින්ම සකස් කළ, ගෙවී ගෙවී අතීතයට යන ආස්වාද මාත්‍රයන්ගේ සම්පිණ්ඩනයක්. ඒ ගැන අවබෝධයක් නැති කමින් තණ්හා වෙනවා. මේ වස්තූන් කෙරෙහි ඇළුම් කිරීම නිසා ගොඩනගා ගන්න සංකල්පිත රාගයෙන් එතැනට භාවීම කාම තණ්හා කියල හඳුන්වනවා.

තව පිරිසක්, කාම සැපවල හරයක් නැති වුනත් දුක් නැතිව ධ්‍යාන සුවයෙන් වාසය කරන්න පුළුවන් සුගති ලෝක හෙවත් රූපාවචර, අරූපාවචර බ්‍රහ්ම ලෝක තියෙනව කියල දැනගෙන, එබඳු ලෝකවල උපදින්න, ධ්‍යාන සුවයේ ආස්වාදයට හිත තියනවා. සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකග්ගතා සහිත ප්‍රථම ධ්‍යානය වඩනවා. ඒ සුවයට තණ්හා වෙලා ප්‍රථම ධ්‍යාන තලයේ උපදිනවා. මේ විදියට ධ්‍යාන සුවයට තණ්හා වෙලා, බොහෝ දීර්ඝායුෂ තියෙන සුගති භවවල උපදිනවා. නමුත් රාගාදී කෙලෙස් ප්‍රහීන කරල නැති නිසා, ඒ ඒ බ්‍රහ්ම ලෝකවල ආයුස පිරිහීමෙන් පසු, පෙර කර්ම විපාක අනුව නැවත උපදින්න සිද්ධ වෙනවා. සදාකාලික සුගති ලෝක ඇත කියන අවිද්‍යා ඇදහීම, සාස්වත දෘෂ්ටිය හැටියට බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. සදාකාලිකයි කියල රැවටිලා සුගති ලෝකවල ඉපදීමට තණ්හාවීම භව තණ්හා කියල හඳුන්වනවා.

දස අකුසල් කිරීම, කරවීම, කිරීමට අනුබල දීම හෝ එසේ කිරීම යහපතැයි කියල වර්ණනා කිරීම නොකළ යුතුයි, ඒවා කිරීමෙන් දුගතියේ ඉපදිලා බොහෝ කාලයක් අනන්ත දුක් විඳින්න සිද්ධ වෙනවා කියල ශ්‍රමණ බ්‍රාහ්මණාදීන් ලෝකයාගේ යහපත පිණිස දේශනා කරනවා. සමාජයේ කතිකා වන මේ අදහස් ගැන සත්‍යය නොදන්නා නමුත්, පවට බියෙන් ඒවායින් බැහැර වෙන පිරිසක් ඉන්නවා. තවත් පිරිසක් මෙලොවක් නැත, මෙලොව උපන්නාට පරලොවක් නැත, මව් කියා විශේෂ ගුණයක් නැත, පියා කියා විශේෂ ගුණයක් නැත, විශේෂ නුවණකින් මෙලොව පරලොව දැනගෙන දැකගෙන දේශනා කරන මහණ බමුණන් නැත, ඒ අය කියන දේවල් පිළිගන්න බෑ... ආදී වශයෙන් මිසදිටු අදහස් අරගෙන මිසදිටු කතා කියනවා. පර පණ නැසීම ආදී අකුසල් කරනවා. මිසදිටු පාපකාරී විදියට දිවි පවත්වනවා. මේකට උච්ඡේද වාදය කියල කියනවා.

මේවා අහන දකින, පවට බිය ඇතිව ඉන්න පිරිසගෙ පවට තිබුණ බිය නැති වෙලා දුසිරිතට යොමු වෙනවා. කලින් සඳහන් කළ දස වස්තුක මිසදිටු බවට බැහැගත් පිරිස අතරෙ මිච්ඡා දිට්ඨි, මිච්ඡා සංකප්ප, මිච්ඡා වාචා... මිච්ඡා ඤාණ, මිච්ඡා විමුක්ති කියන අංග දහයම තියෙන යමෙක් ඇත්නම්, ඔහු පරම අසත් පුරුෂයෙක් කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. පරම අසත්පුරුෂයන් නිසා ලෝක සත්වයා, මොනව කළත් කමක් නෑ, පව්වලට විපාක විඳින්න වෙනව කියල දෙයක් නෑ කියන දෘෂ්ටියෙන් පස්කම් සැපයට තණ්හා වෙලා දස අකුසල් කරනවා. මේ තණ්හාව විභව තණ්හා කියල හඳුන්වනවා. මේ සියල්ල අවිද්‍යාව මුල්කරගෙන ඇතිවෙන තණ්හාවන්.

සමහරු හැම පෝයටම සිල් ගන්නවා. නිතරම බණ අහනවා. බුද්ධ පූජා ආදී පින්කම්වල නිතරම යෙදෙනවා. මේ කටයුතු කරන්නෙ නිවනට තණ්හා වෙලා නේද කියල කෙනෙකුට කියන්න පුළුවන්. නිවන අරමුණු කරගෙන හිතන, කියන, කරන සියල්ල අයිති වෙන්නෙ කුසල මූල පටිච්ච සමුප්පාදයට. නිවන කියන්නෙ ඒ වෙනකොට ඉතිරිවෙලා තියෙන රාග, දෝස, මෝහ අනුෂය නැති කරගැනීම. එතැන සිද්ධ වෙන්නෙ මිදීමක්, නොඇල්මක් මිසක් භාවීමක්, ඇලීමක් නෙවෙයි. එතැනදී වේදනා පච්චයා පසාදෝ කියල කුසලය හේතුවෙන් ගොඩ නැගෙන්නෙ චිත්ත ප්‍රසාදය. ප්‍රසාදය කියන වචනය යොදල තියෙන්නෙ කුසල මූලයෙන් එන තණ්හාවට. ප්‍රසාද පච්චයා අධිමොක්ඛෝ - අධිමොක්ඛ පච්චයා භවෝ - භව පච්චයා ජාති කියල හඳුන්වන්නෙ ආර්ය ජාතියක් ගොඩ නගන නිවන් මගට භාවීමට. තැන්හි භාවීම කියන අර්ථයෙන් ගත්තොත් ඒ කාරණය නිවැරදියි. හැබැයි ඒක දුකට හේතු වෙන්නෙ නෑ, නිවනින් කෙළවර වෙනවා. අවිද්‍යා, තණ්හා අනුෂය සහමුලින් නැති වෙන්නෙ ☞

අරිහත් ඵලයෙන්.

ඊළඟට සමුදය කියන්නෙ යමක් උදා වෙනවා, ගොඩ නැගෙනවා කියන එක. තණ්හා සමුදය කියන්නෙ තණ්හාව උදා වෙනවා, ගොඩ නැගෙනවා කියන එක. වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා වෙනවා. අපේ මනස, විඳීම් කියල දෙයක් තියෙන බව පෙන්වනවා. සැප වේදනා දුක් වේදනා, උපේක්ෂා වේදනා කියල මේ වේදනා සංඥා වශයෙන් හඳුන ගන්නෙ මනස. ඒක විපාකයක්. මෙතනදි විඳීමයි, විඳවීමයි කියන්නෙ කාරණා 2 ක්. විඳීම කියන්නෙ විපාකයක්. ඒක විඳින්න සිද්ධ වෙන දෙයක්. කැමති වුනත් අකමැති වුනත් විඳින්න වෙනවා. විඳවීම කියන්නෙ විඳීමට බැඳීම. ඒ කියන්නෙ ඕනකමින් විඳ විඳා ඉන්නවා. ඕනනම් මනසින් හිත හිතා විඳවන්නත් පුළුවන්. එතකොට ඒක වේදනා චෛතසිකයට වැටෙනවා.

හැබැයි මේ වේදනාව සැප, දුක්, උපේක්ෂා වශයෙන් වෙන් කරල බෙදල පෙන්වන්නෙ ප්‍රඥාවෙන්. ඒ කියන්නෙ වේදනාව තුන් ආකාරයි කියල බුදුන් වහන්සේට හැර වෙනත් කෙනෙකුට පලමුවෙන්ම කියන්න පුළුවන් කමක් නෑ. වෙනත් කෙනෙකුට ඒ විදියට වේදනාව විග්‍රහ කරන්න බෑ. ඊට පස්සෙ ඒ දේශනාව අහල උන්වහන්සේගෙ ශ්‍රාවකයන්ට ඒ ඒ මට්ටම්වලින් විග්‍රහ කරන්න පුළුවන්. තවත් පැහැදිලි කරනව නම් මේ වේදනා තුනට රාග, ද්වේශ, මෝහ සහිතව බැඳීමෙන් ඇතිවන ආස්වාදය සහ දුක විග්‍රහ කරන්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාවෙන් විතරයි. අනිත් අයට දැනෙන්නෙ වේදනා චෛතසික-යන්ගෙන් ගන්න සංඥාව විතරයි. එතකොට මේ වේදනා ඇති වෙන්නෙ ස්පර්ශ හේතුවෙන්. ඇස, කන ආදී ඉඳුරන් සකස් වෙලා තියෙන්නෙ "මනෝ පුබ්බංගමා ධම්මා ..." ආදී වශයෙන් කියන දේශනාව අනුව, ආස්වාද විඳීමේ බලාපොරොත්තුව ඉටු කරල දෙන්න. ඒවාට ගෝචර වන රූප, ශබ්ද... ආදියත් ඒ විදියටම මනස පූර්වාංගම වෙලා සකස්වුන සතර මහා භූත රූපවල විවිධ අවස්ථා. මොහො-තක්වත් එකාකාරව පවතින්නෙ නැති, ගෙවී ගෙවී දිර දිරා අතීතයට යන රූප මාත්‍ර රැහැන මනසින් ගොනු කරල ආස්වාදයක් තියෙන බව පෙන්වල මුලා කරමින් බලාපොරොත්තු ඉටු කරන බව පෙන්වනවා.

මේ මායාකාරී ක්‍රියාවලියට උදාහරණයක් ස්වයං මෝහන සංසිද්ධියකින් පෙන්වන්න පුළුවන්. කෙනෙක් හොඳටම වෙහෙස වෙලා ඉන්න වෙලාවක, පහසු ඉරියව්වකින් පුටුවක හාංසි වෙලා, ඇස් පියාගෙන මෙහෙම හිතනවා. "ඉර බැහැගෙන යනවා. රස්නය අඩු වෙලා. සීත සුළං හමා යනවා. ලස්සන මල් වත්ත. ඉස්සරහ තියෙන මේ පොකුණෙ වතුර කොච්චර පැහැදිලිද, නිල්ම නිල් පාටයි. මේ වැතිරිලා ඉන්න තණ තීරුවේ හරි මුදු සිසිලක් දැනෙනවා. මේ නිල් මානෙල්, කෙකටිය මල් හරි ලස්සනයි. මම ආසම කරන මල් සුවඳ..."මේ විදියට විවේකීව ඉන්න කැමති පරිසරයක් හිතෙන් මවාගෙන, මම මෙතන ටික වෙලාවක් පොඩි නින්දක් දාන්න ඕන කියල හිතට මතක් කළොත්, පුටුව උඩ නින්ද යනවා. හැබැයි ඇත්තටම මල් වත්තකට ගියේ නෑ. නමුත් මානසික සුවයක් වින්ද නිසයි නින්ද ගියේ. මේ විදියට නැති දෙයක් ඇති සේ සනීභවන භූත රූප මවාගෙන විඳින්නා වූ විඳීම්, කාල මාත්‍රයෙන් මාත්‍රය අතීතයට ඇදී ඇදී ගෙවිල යනවා. ආස්වාදය පිරෙන්නෙ නෑ. අවිද්‍යාව නිසා විඳීමේ බලාපොරොත්තුව නැවත නැවත ඇති කරනවා, තණ්හා සමුදය වෙනවා. සනීභවන භූත රූපවල යථා ස්වභාවය හේතු - ඵල ක්‍රියාවලියක්. ඒ බව නොදැනීම කියන අවිද්‍යාවත්, ආස්වාදය මුලා සහගත අසාර එකක් බව නොවැටහීමෙන්, මතු මතුත් විඳීමේ බලාපොරොත්තු ඇතිකර ගැනීමත් හේතුවෙන්, නැවත නැවත ඉපදෙමින් සසර ගමන යනවා. මේ තමයි අවිද්‍යා මූලික වන තණ්හා සමුදය.

කුසල මූලයෙන් හට ගන්නා සිල් ගැනීම, භාවනා කිරීම..... ආදියට හාවීම නිවන් දැකීමෙන් අවසන් වෙනවා. ඒ කාරණය දුකට හේතු වෙන්නෙ නෑ.

(තණ්හා නිරෝධය සහ තණ්හා නිරෝධ කිරීමේ මාර්ගය මීළඟ කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිලිණවතී.**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# අරී සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරී සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)

0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

**අභයරතනාලංකාරය - 53**

# සමාධි බලයෙන් කළ විස්මිත ප්‍රතිකාර...



(පසුගිය කලාපයෙන් - පුණ්‍ය සෘද්ධි ගැන තවත් ඇසූ පිරූ තැන්....)

**- වහරක අභයරතනාලංකාර හිමි**

ඈත අතීතයේ පටන් මනුස්සයින්ට හට ගන්නා බරපතල රෝගාබාධවලට අධ්‍යාත්මික ශක්තීන් උපයෝගී කරගෙන ප්‍රතිකර්ම කිරීම දකින්න තියෙන දෙයක්. විශේෂයෙන් ඍෂි භාවිතයෙන් එන මේ වගේ ක්‍රම ලංකාව වගේ බුදු දහම කේන්ද්‍ර කර ගත් රටවල අතීතයේ බහුල වශයෙන් පැවතිලා තියෙනවා. සාමාන්‍ය වෛද්‍ය විද්‍යාවට හසු නොවන ශරීර අභ්‍යන්තරයේ පවතින ගෙඩි, වණ, පිලිකා වගේ තත්වයන් අධ්‍යාත්මික කිරණ බලය උපයෝගී කර ගෙන පුළුස්සා දැමීම වගේම, කිසිම උපකරණයක් භාවිතා නොකර සැත්කම් කරපු අවස්ථාත් අතීතයේ තිබිල තියෙනවා. ඉතා කෙටි කාලයක් තුළ, කිසිම වේදනාවකින් තොරව, වෙහෙස මහන්සියකින් තොරව ඒ වගේ අධ්‍යාත්මික ක්‍රමවේදයන් උපයෝගී කර ගෙන සිද්ධ කරන මේ වගේ විස්මිත ප්‍රතිකාර ක්‍රමවල අඩුව අද වගේ කාලයක බොහෝ කොටම දැනෙනවා. සමහර භෞතිකවාදීන්ගේ මතවාද බිඳින්නත් මේ වගේ ක්‍රම බොහෝ කොටම වැදගත්.

ගිහි වතක ඉඳගෙන වෙදකම් කරනකොට, තමන් ළඟට ආව රෝගියෙකුගේ ශරීර අභ්‍යන්තරයේ තිබ්ච්ච එක්තරා රෝගාබාධයක් විස්වාස නොකිරීම නිසා, තමන්ගෙ අධ්‍යාත්මික බලයෙන් කරපු විස්මිත සැත්කමකින් ඒ කාරණය ඔප්පු කරල පෙන්වපු අවස්ථාවක් ගැන වහරක අභයරතනාලංකාර හිමියන් මේ විදිහට හෙළිදරව් කළා. අද වගේ කාලයක හිතන්නත් බැරි මේ වගේ අධ්‍යාත්මික සෘද්ධි ක්‍රම ලෝකයේ තියෙන බව ඔප්පු කරන්න මේ වගේ අත්දැකීම් බොහොම වැදගත්.

මම මහණ වෙන්න පෙර ගිහි කාලෙ එක්තරා සමාධිමය ක්‍රමයකින් කෙනෙකුගේ ශරීර අභ්‍යන්තරයේ තියෙන රෝගී තත්වයන් හොයල බලල, ඒවාට ප්‍රතිකාර සහ ඖෂධ කරන ක්‍රමවේදයක් තිබුණා. කිසිම මාධ්‍යයකින් ප්‍රසිද්ධ නොකර මම ඇසුරු කරපු පින්වතුන් හරහා දැනගෙන, රටේ විවිධ ප්‍රදේශවලින් පැමිණි රෝගීන් මම ඒ වගේ ප්‍රතිකාර ක්‍රමවලින් සනීප කරල තියෙනවා. නිකම්ම භෞතික ප්‍රතිකාර ක්‍රම විතරක් යොදා ගන්නෙ නැතිව, කර්ම විපාකවලට ප්‍රතිකර්ම කරන සාසන වැඩ පිළිවෙලකුත් ක්‍රියාත්මක කරපු නිසා, හේතු ඵල අනුව ඒ රෝගීන් සුවපත් වීම බොහෝ කොටම සාර්ථකව සිද්ධ වුණා. මම ඉතින් ඒ කාලෙ අභියෝග බාරගන්න බොහොම කැමතියි. වෛද්‍යවරු හොඳ කරන්න බෑ කියල පැත්තකට දාල තිබ්ච්ච රෝගීන් වගේම, මැරෙනව කියල දින වකවානු කියපු රෝගීන් පවා අභියෝගාත්මකව බාර ගෙන සනීප කරපු අවස්ථා ඕන තරම් තියෙනවා. වෛද්‍යවරු මොනව හරි කිව්වොත් මම අභියෝග කරල තමයි බෙහෙත් කළේ.

මොකක් හරි තියෙන රෝගයක් නම් ඒ වෙලාවට, මේ වගේ අමනුස්සයෙක් අහවල් තැන ඉන්නවා, ඒ අමනුස්ස බලපෑමෙන් තමයි මෙහෙම වෙලා තියෙන්නෙ, මෙන්න මේ රෝග මූලය හැදෙන්නෙ අහවල් හේතුව උඩ, මේකට බේත මේකයි... ආදී වශයෙන් සමාධියට ගෝචර වෙනවා. අවස්ථානුකූලව ඒ ශක්තිය මතු වෙනවා. ඒ ශක්තිය ආරෝපණය වෙනව වගේ, අවස්ථාවෙන් අවස්ථාවට නැගිල එනවා. ඒක වෙනම වෙදකමක්. කර්ම ඵල ක්‍රියාත්මක වන ක්‍රමවේදය එක්තරා ආකාරයක ධර්මානුකූල ක්‍රමයකට යම් කිසි ප්‍රමාණයකින් මට ගෝචර වෙච්ච නිසා ඒ වගේ රෝගීතාවයන් බෙහෙත් ඖෂධවලට වඩා සාසනික ප්‍රතිකාර ක්‍රමවලින් දුරු කරන්න පුළුවන් වුණා. ඒ ක්‍රම වේදයේ තිබ්ච්ච වැදගත්කම තමයි, කර්ම වේග ගෙවා හරින ක්‍රමයකුත් ක්‍රියාත්මක වෙච්ච නිසා, එක අතකින් සසර ගමනින් නිවන් මගට යොමු වෙන්නත් ඒ රෝගීන්ට පහසුවෙන් අවස්ථාව ලැබීම. සාසනය මුල් කර ගෙන කරන කටයුතු නිසා, මේ අනන්ත සසර ගමනේ කවදා හරි ඒ කරපු පිං කුසල් ඇදිල ඇවිත් භව රෝගයෙන් නිදහස් වෙන්නත් ඒ අයට හේතු වාසනා ලැබෙනවා. මේ අත්භවයේ ලැබිච්ච භෞතික මස් ලේ ශරීරයේ රෝගාබාධ සුව වීමට අමතරව, ඒ අයට ලැබිච්ච තවත් අමතර ප්‍රතිලාභයක් තමයි ඒ.

ඉතින් මේ වගේ මා ළඟට ආව රෝගියෙකුගේ අභියෝගයක් බාර ගත්ත අවස්ථාවක් තමයි මේ කියන්න යන්නෙ. මේ සිද්ධිය වුණේ 1986 වසරේ රෝගීන්ට බේත්, ප්‍රතිකාර කරන අවස්ථාවක. ඒ කාලයේ මම මනෝමය ශක්තිය උපයෝගී ☞

කර ගෙන අධ්‍යාත්මික දේවල් භෞතික වශයෙන් විද්‍යමාන කරල පෙන්වන්න ඔන්න මෙන්න කියල හිටපු අවස්ථාවක්. ඒ කියන්නෙ මස් ලේ ඇහැට පේන්න, අතින් ස්පර්ශ කරන්න පුළුවන් මට්ටමට භෞතික වස්තූන් වශයෙන්ම නිර්මාණය කරන්න පුළුවන් අවස්ථාවක්. සමහර වෙලාවට වෙනව නොවෙනව වගේ පේනවා. ඒ කියන්නෙ එහෙම නිර්මාණය වෙන බව පෙනිල අන්තිමට නොපෙනී යනවා. ඒ වගේ ඉතා ආසන්න මට්ටමට ආපු කාලයක් තමයි මේ. ඒ මට්ටමට එනකල් ඒ හැකියාව ඔප් නැංවුණා.

ඒ කාලෙ එක්තරා නෝන කෙනෙක් තමන්ගෙ මහත්තයත් එක්ක ඔහුට තිබිච්ච බඩේ අමාරුවකට ප්‍රතිකාර ගන්න ආවා. එක්තරා විශ්වාසයක් උඩ තමයි ඒ අය ආවෙ. ඒ කියන්නෙ ඒ නෝනට අතේ අමාරුවක් මුල් කර ගෙන මම දීපු රක්තවාත තෙලෙන් ඒ අමාරුව සම්පූර්ණයෙන්ම හොඳ වෙලා තිබුණා. වණ වෙලා තිබිච්ච මුළු අතම සම්පූර්ණයෙන්ම හොඳ වුණා. ඒ තෙලෙන් අත සනීප වුනාට පස්සෙ අතේ හැම තැනම ලප කැලැල් තිබුණා. ඒ ස්ථානවල රෝම පවා හැලිල තිබුණෙ. ඊට පස්සෙ වට්ටක්ක වැල්වල කරටි කඩල ඒකෙන් එන මැලියම ඒ කැලැල් තියෙන තැන්වල ගාන්න කිව්වා. ඒකෙන් පස්සෙ අතේ තුවාල තිබුණද කියල හොයා ගන්නත් බැරි මට්ටමට ඒ ලප කැලැල් මැකිල ගියා. ඒ රක්තවාත තෙල ඉස්සෙල්ලම සමාධියට ඇදිල ආවෙත් ඇය මුල් කර ගෙන. ඒ විශ්වාසය උඩ තමයි තමන්ගෙ ස්වාමිපුරුෂයත් එක්කර ගෙන ආවෙ.

ඔහුගෙ බඩේ මොනව හරි ආබාධයක් තිබුණා. නිතර ලෙඩ ගොඩක් තිබිච්ච කෙනෙක්. මේ අය විවිධාකාර තැන්වලට ගිහින් බේත්හේත් කරල තිබුණත් සනීප නොවුන නිසයි මා ළඟට ආවෙ. වෛද්‍යවරු හරියට කියල තිබුණෙත් නෑ මොකක්ද ලෙඩේ කියල. මම සමාධියෙන් යොමු කරල බලන කොට පෙනුනා, ඔහුගෙ බඩ වැලේ ස්ථාන තුනක ලොකු ගෙඩි 3 ක් තියෙන බව. පස්සෙ මම ඒ අයට පැහැදිලි කරල කිව්වා මෙන්න මේකයි වෙලා තියෙන්නෙ කියල. එතකොට ඒ නෝනට එකපාරටම හිනා ගියා, ඒක ගණන් ගත්තෙ නෑ. පස්සෙ මම ඇහුවා, කිව්වට විශ්වාස කරන්න බැරි වුණා නේද කියල. දැන් ඉතිං නෑ කියන්නත් බෑ. මොකද ඒ කාලෙ මම මතු කරල තිබිච්ච ශක්තිය අනුව නිකම්ම ඇත්ත කියවෙනවා. ඒ තරම් විසාල ශක්තියක් ඒ කාලෙ තිබුණා. ඒ නිසා කතා කරන කොට බොරුවට විහිළු කොලොප්පම් කරන්න බෑ.

ඉතින් කොහොම හරි ඇයගෙ හිතේ මේ ගැන යම්කිසි සැකයක් තිබිච්ච නිසා මම කිව්වා, ඔය පුටුව අරන් මෙතනින් වාඩි වෙලා බලා ගෙන ඉන්න කියල. ඇය වාඩි වෙලා බලා



ගෙන ඉන්න කොට, මම ඇගේ ස්වාමිපුරුෂයා පුටුවෙන් නැගිට්ටවල හිට ගෙන ඉන්න සලස්වල, බඩ ප්‍රදේශයෙන් උඩ කමිසය පොඩ්ඩක් එහාට මෙහාට කරල පසුතලය හදල අධිෂ්ඨාන කරල බඩ පැලුවා. ඒ කියන්නෙ ඔහුගෙ ඇඟට අත තියන්නෙවත් නැතුව, කිසිම උපකරණයක් පාවිච්චි නොකර අධිෂ්ඨාන කරල බඩ කපනව වගේ විවිධ ශබ්ද එක්ක සංඥා දෙනවා. ඒ වගේ විවිධ ක්‍රම තියෙනවා. එහෙම කරන කොට ක්ෂණිකවම බඩ පැලෙනවා. බලන් ඉන්න අයටත් මස් ලේ ඇහැට පේනවා. දැන් ඉතින් මම අතින් අර විදියට සංඥාව දීල බඩ පලනකොට ඒක දැකපු අර නෝන එක පාරටම ගැස්සිලා මූණත් එක්ක ඇඹුල් වෙලා ගියා. මම කිව්වා දර්ශනය පෙනෙයි හොඳට බලා ගන්න කියල. දැන් අර මනුස්සයගෙ බඩ වැල මගේ අත දිගේ එති එතී ටිකෙන් ටික එළියට එනවා. එහෙම බඩ වැල අඩි ගණනාවක් එළියට ඇදුනම, මේ බලන්න ගෙඩිය කියල පෙන්නුවා. ඒ විදියට බඩ වැලේ තුන් පොලක තිබිච්ච ගෙඩි 3 ම ඇදල අරගෙන පෙන්නුවා.

දැන් බඩ වැල මගේ අතට උඩින් යන්නෙ. එක පැත්තකින් බඩ වැල ඇදෙනවා, අනෙක් පැත්තෙන් අත යටින් නැවත බඩ ඇතුළට යනවා. හරියට ගැරඬියෙක් අත දිගේ යනව වගේ. ඒක මගේ අතටත් දැනෙනවා. ඒ කියන්නෙ සතර මහා භූතවලින්මයි හැදිල තියෙන්නෙ. සතර මහා භූතවලම කිරණමය ස්වභාවයක්. නමුත් ඒ වෙලාවෙ මට ඒක ගාණක් නෑ. දැන් මේ ඇද ඇද පෙන්වන්නෙ අර ගෙඩි 3 තියෙන තැන. ගෙඩිවල ස්වභාවය දැක්කද කියල අහල, ඒ විදියට ගෙඩි 3 ම පෙන්නුවට පස්සෙ අර නෝන ඒක පිළිගත්තා. ඊට පස්සෙ නැවතත් මම අධිෂ්ඨාන කරල බඩ වැල ශරීරය ඇතුළට දාල වැහුවා. අන්තිමට එහෙම්ම වැහිල ගියා. මුකුත් පේන්න නෑ. අතගාල බැලුවම ලේ ටිකක් ගෑවිලාවත්, කැළලක්වත් මොකක්වත් නෑ. ඒපුද්ගලයාට කිසිම වේදනාවකුත් නෑ. හැබැයි බඩ පලනව කියල ඒ පුද්ගලයාට දැනෙන්නෙත් නෑ. නමුත් මොනව හරි හුළඟක් වගේ දෙයක් වදිනව කියල ඉතා සියුම්ව දැනෙනවා.

උදාහරණයක් විදියට අපේ කකුලක යම්කිසි දෙයක් වැදිල හිරි වැටුනොත් යම් කිසි කිරණක් ඇඟට වැදුන වගේ දැනෙනවා. අන්න ඒ වගේ සියුම් සතර මහා භූතවලින් හැදිච්ච මේ කිරණමය කය පලන කොට සියුම් දැනීමක් එනවා. කිරණමය වුණත් පිට ඉඳන් බලාගෙන ඉන්න

කෙනෙකුට පේන්නෙ ඇස්පනා පිටම මස් ලේ කයක් කපනව කොටනව වගේ. නමුත් රෝගියාට කිසිම වේදනාවක් නෑ. පුංචි හුළං පොදක් වැදුන වගේ දැනෙනවා එච්චරයි. ඒ පුද්ගලයා නිකං බලා ගෙන ඉන්නව විතරයි. ඒ වෙලාවෙ ඡායාරූප ගත්ත නම් සමහරවිට වදින්නත් ඉඩ තිබුණා. ඉතින් මේ විදියට කළේ, අර නෝනගෙ තිබ්බ්ච සෑකය දුරු කරන්න. හැබයි බඩ පලල ගෙඩි 3 පෙන්නුවට, නැවතත් අධිෂ්ඨාන කරල වහල අර රක්තවාත තෙලෙන් වස්තියක් කරල තමයි ඒ ගෙඩි 3 ම සනීප කළේ. ගෙඩි 3 තිබ්බ්ච ආකාරය පෙන්වන්න විතරයි බඩ පැලුවෙ. සනීප කළේ වෙන ක්‍රමයකින්. ඉතිං මේ නෝනයි මහත්තයයි ඒ කාලෙ ඉඳන්ම තාමත් පන්සලට සිල් ගන්න එනවා.

දූන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ඇයි ඒ ක්‍රමයෙන්ම ඒ ගෙඩි ඉවත් කරල සනීප කළේ නැත්තෙ කියල. ඒකට හේතු කීපයක් තියෙනවා. එකක් තමයි අපිට ඕන ඕන ක්‍රමවලට ඒ වගේ ගෙඩි ඉවත් කරන්න බෑ. ඒකටත් සුදුසු වෙනම ක්‍රමයක් සමාධියට ගෝචර වෙනවා. ඒ ක්‍රමයෙන් ඒක ඉවත් කරනව හැර ඒ වෙලාවට වෙන ක්‍රමයක් එන්නෙ නෑ. මේ අවස්ථාවෙදි ඒ ගෙඩි සනීප කරන්න ආපු ක්‍රමය තමයි රක්තවාත තෙල. ඒකට හිමි ප්‍රතිකාර ක්‍රමය තමයි ඒ.

අනිත් කාරණය තමයි, මේ මස් ලේ ඇහැට පෙනිච්ච දර්ශනය භෞතිකව ඒ විදිහට පෙනුනට ඒක භෞතික කයේම දර්ශනයක් නෙවෙයි. ඒ කියන්නෙ භෞතික කයේ අනුරුවක්/ලාංඡනයක් තමයි නිර්මාණය වෙලා ආවෙ. ඒ නිර්මිත කයේ බඩ තමයි සැත්කමකින් පලල පෙන්වන්නෙ. හැබැයි අර භෞතික කයට අනුරූප එකක්ම නිසා, ඒ භෞතික කයේ යම් ආබාධයක් තියෙනව නම් ඒක නිර්මිත කයෙත් ඒ විදිහටම තියෙනවා. ඒ නිසා භෞතික මස් ලේ කයේ තිබ්බ්ච ගෙඩි තුන මේ නිර්මිත කයෙත් තිබුණා. ඒක මස් ලේ ඇහැට දර්ශනය කරල පෙන්වන්න පුළුවන්. එතකොට නිර්මිත කයෙන් ඒ රෝගීතාවය විතරයි පෙන්වන්න පුළුවන් වෙන්නෙ. ඒකෙන් සනීප කරන්න බෑ. ඒකට වෙනම භෞතික ප්‍රතිකාරයක් කරන්න ඕන.

මේ වගේ තවත් විශේෂ සිද්ධියක් ඒ කාල වකවානුවේම සිද්ධ වුණා. ඒක හරි වැදගත් දෙයක්. මොකද ඔය ශක්තිය එක්තරා උපරිමයකට නැගිච්ච අවස්ථාවක්. එදත් මම රෝගීන්ට සමාධියෙන් බේත් හේත් කරපු දවසක්. එදා ආපු එක රෝගියෙක්, එච්චර කාලයකට හොඳ කරන්න බැරි වෙච්ච බඩේ අජීර්ණයකට බේත් ගන්න තමයි ආවෙ. ඔහු ඒ දවස්වල වයස අවුරුදු 27 ක විතර කඩවසම් තරුණයෙක්. මම ඉතින් සමාධියෙන් බලල කිව්වා, ඔබට මේ වගේ රෝගයක් තියෙන්නෙ ඇඹුල් පහක බෝතල් තුන් කාලක් අරගෙන එන්න කියල. ඒ කියන්නෙ දෙහි, ඇඹුල් දොඩම්, නාරං, නස්නාරං, සියඹලා ආදී වශයෙන් ඇඹුල් වර්ග පහක් වතුර නොදා මිශ්‍ර කරල හදාගත්තු බෝතල් තුන් කාලක්. ඒක ජීවම් කරල දෙන්න කියල තමයි සමාධියෙන් කියවුනේ.

ඔහු ඉතින් ඊට දවස් දෙක තුනකට පස්සෙ, කියපු විදිහට ඇඹුල් වර්ග 5 කින් බෝතල් තුන් කාලක් හදාගෙන ආවා. අපේ බාප්ප නැති වෙච්ච දවස නිසා හරියට දවසත් එක්ක මතකයි. මම ඉතින් ඔහුත් එක්ක බොහොම හුරු පුරුදු විදිහට තමයි කතා කළේ. මම ඇහුවා, මෙච්චර කල් මොනව හරි බේත් අරගෙන ඇතිනෙ මොන මොන ක්‍රමවලින්ද බේත් අරගෙන තියෙන්නෙ කියල. මොනව හරි වීදුරුවකට බේත් දියර වත්කරල බොනවා. ඒ බේත් බොන එක ක්‍රමයක්. මොනව හරි පෙති, ගුලි ගිලිනවා. ඒ තවත් ක්‍රමයක්. එහෙම නැත්නම් සේලයින් වගේ ශරීරයට එන්නත් කරල ඇතුල් කරන්නත් පුළුවන්. ඊළඟට වස්තියක් විදිහට දෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් ඉන්හේලර් වගේ ආශ්වාස ක්‍රමයෙනුත් සමහර බේත් වර්ග දෙනවා. මේ විදිහට මම ඉතින් ඔහුගෙන් අහල විවිධ බේත් වර්ග දෙන හැටිත් මමම කියා දුන්නා. අන්තිමට මම ඇහුවා, මේ ක්‍රමවලට අමතරව බේත් දෙන වෙනත් දන්න කියන ක්‍රම තියෙනවද කියල. ඉතින් ඔය අහල පුරුදු සුලභ ක්‍රමවලට අමතරව තවත් ක්‍රමයක් දන්නෙ නෑ කිව්වා. පස්සෙ මම කිව්වා, මේ ඇඹුල් පහ ඔයාට දෙන්නෙ ඔය කියපු ක්‍රමවලට අමතර වෙනත් ක්‍රමයකට කියල. එහෙම කියල මම අර ඇඹුල් පහේ බෝතලය අරගෙන ඒක පිඟානකට වත්කළා.

ඔහු මා ඉදිරියෙන් ඉඳගෙන හිටියා. ඊළඟට මම සමවත් කවි මාලාවකින් වැඩේ පටන් ගත්තා. කවි විසිපහක් විතර කියවුනා. දැන්නම් ඒ කවි එකක්වත් මතක නෑ. බුදු ගුණ මුල්කර ගත් සෙත් කවිවලින් තමයි ඒ විදියට දොස් කපල ජීවම් කළේ. ඊළඟට මම ඒ ද්‍රාවණය අතින් තද කළාම හරියට බෝලයක් තිබ්බ වගේ දැනුණා. ඒ කියන්නෙ ද්‍රාවණය එහෙම්ම තියෙද්දි කිරණ බෝලයක් හැදුණා. ඒක එක්තරා ආකාරයකට කාන්දමක් වගේ කිරණ බෝලයක්. හරියට ද්‍රාවණය උඩ කිරණ බෝලය තියෙනව වගේ. හැබැයි ඒක සමාධියට දැනෙනව මිසක් පිටින් බලන කෙනෙකුට පේන්නෙ නෑ. කවියෙන්මයි දූන් වැඩේ කරගෙන යන්නෙ. එහෙම කරල ඉවර වුණාට පස්සෙ එතන විසාල කාන්දමක් වගේ දෙයක් ඇති වුණා. ඒ ළඟට අත තිව්වොත් අත ඉබේම අහකට විසිවෙනවා. ඒ තරම් ශක්තියක්.

ඊට පස්සෙ මම ඔහුට කිව්වා, දූන් මේ ටික ඔයාගෙ ශරීරයට ඇතුල් කරන්න යන්නෙ, ඇස් දෙක පියාගන්න කියල. ඒ ඇඹුල් පහ ඇතුල් කරන කොට ඒවායේ සැර පරමාණු වශයෙන් ඇහැට වැදිල ඇස් දැවිල්ල හැදෙන්න පුළුවන් නිසයි ඇස් දෙක පියා ගන්න කිව්වෙ. ඊළඟට, ඔන්න මම ඇතුල් කරනවා මොකද වෙන්නෙ කියල බලන්න කිව්වා. එහෙම කියල මම පිඟාන උඩින් අත් දෙක තියල තද කළා. ඊට පස්සෙ ඇස් දෙක ඇරල පිඟාන දිහා බලන්න කිව්වා. මම ඇහුවා, කෝ පිඟානෙ තිබ්බ්ච ඇඹුල් ටික, ඔබට මොකද වුනේ කියල. එතකොට ඔහු කිව්වා, ඇස් දෙක පියා ගත්තු කෙටි කාලය තුළ ක්ෂණිකවම ඇඟ හිරිවැටිල කට ඇඹුල් වෙලා ගියා එච්චරයි කියල. එතකොට කොහොමද මේ ඇඹුල් පහේ ද්‍රාවණය ශරීරයට ඇතුල් වුණේ? වළා පටලයක් වගේ ගිහින් මුළු ශරීරයෙන්මයි ඒක ඇතුල් වුණේ. ඒ කියන්නෙ ශරීරය වටා තියෙන ඕරා වළල්ලත් පසාරු කරගෙන. කට ☞

ඇඹුල් වෙලා ඇඟ හිරි වැටීමෙන් ඔහුට ඒ බව දැණුනා.

දැන් ඉතින් මේ බෝතල් තුන් කාලක් තිබ්බ්ච ඇඹුල් ටික ඕං බලන්න දැන් තියෙනවද කියල මම අත් දෙක ඉස්සුවා. අතේ බින්දු තුන හතරක් තිබිල ඒක පිඟානට වැටුණා, එච්චරයි. අර පිඟානෙ තිබ්බ්ච ඇඹුල් තුන් කාලෙන් ඉතිරි ටික නෑ. දැන් මේ වැඬේට තත්පර ගණනයි ගියේ. මම පිඟාන අරගෙන වෙනත් තැනකට ගියෙත් නෑ. අර විදිහට පිඟානට අත තියල තද කරපු එක විතරයි කළේ. ඇඹුල් ටිකට වෙච්ච දේ ගැන මටත් පුදුමයි. මොකද භෞතිකව ඇස් දෙකටම පේන්න තිබ්බ්ච, අතටත් අහු වෙච්ච දෙයක් නැති වෙච්ච හැටි. මේ වගේ පුංචි මොහොතක් තුළ ඇඹුල් බෝතල් තුන්කාලක් අධ්‍යාත්මික ශක්තියකින් පරිවර්තනය වෙලා ලෙඩාගෙ ශරීරයට ඇතුල් වුණේ කොහොමද?

ඊට පස්සෙ මම, ඔන්න එහෙනම් බලාගන්න කියල මාත් අත්දැකීමක් ලබන ගමන් අර පිඟාන අරගෙන බිමට හැලුවා. බින්දු තුන හතරක් විතර වැටුනා එච්චරයි. නමුත් අර බෝතල් තුන් කාලම වැටුන නම් කොච්චර ඉහිරෙන්න ඕනද? ඒත් එක්කම කෙනෙක් දොරකඩ ළඟ ඉඳන්, මහත්තය පණිවිඩයක් දැනුම් දෙන්න ආවෙ ඔයාලගෙ බාප්ප නැතිවෙලා කියල කිව්වා. මම ඉතින් හා හොඳයි එහෙනම් මම මේක මෙහෙම්ම තියනව කියල පිඟාන බිමින් නැමුවා. වෙනත් කරන්න දෙයක් නෑ, ඕකෙන් සනීප වෙයි කියල කිව්වා. එදා බේත් හේත් වැඩ කටයුතු එතනින් ඉවර වුණා. ඊට පස්සෙ දවසක ඔහු මට මුණගැහුණා. එතකොට අර බඩේ අජීර්ණය ඉවරයි, දැන් කිසි අමාරුවක් නෑ කිව්වා. ඒක ඉතින් හිතාගන්නත් බැරි පුදුම දෙයක්.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඒ ඇඹුල් පහේ ද්‍රාවණය බොන්න නොදී ඇයි ඒ විදියට ශරීරයට ඇතුල් කළේ කියල. ඕනම රෝගයකට බේතක් දෙනකොට ඒකට ගැළපෙනම ක්‍රමවේදයක් තියෙනවා. ඒ ක්‍රමයට ඒ බේත ශරීරයට දුන්නොත් තමයි ඒක සාර්ථක වෙන්නෙ. මේ අවස්ථාවෙදි සමාධියට ආවෙ ඔය ක්‍රමය. ඒ බේත ශුද්ධාෂ්ටක හෝ අංශු විදිහට ශරීරය හරහා ඇතුල් වෙන්න ඕන. ඒ නිසා ඒක බිව්වට වැඩක් වෙන්නෙ නෑ. එතකොට අර විදිහට අධිෂ්ඨාන කරල තද කරන කොට තමයි ඒ ද්‍රාවණය අංශු බවට පත්වෙලා ශරීරයේ ඒ අදාළ ස්ථානවලට යන්නෙ. ඉතිං සමවත් කව්වලින් කියන කොට අර කාන්දම් ශක්තියෙන් ඒක පරිවර්තනය වෙලා අදාළ ශරීරයටම සම්බන්ධ වෙනවා. එහෙම නැත්නම් ඒ ද්‍රාවණය හැම තැනම විහිදිලා තියෙන්න ඕන. නමුත් එහෙම වුණේ නෑ. ඒ නිසා වෙනත් ක්‍රමයකට කරල හරි යන්නෙ නෑ. ඒකට ගැළපෙන ක්‍රමය තමයි ඒ විදිහට ආවෙ.



දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මොකක්ද මේ හිතා ගන්නත් බැරි ක්‍රමවේද කියල. කෙනෙක් මේ වගේ දේවල් කිව්වට අද කාලෙ පිළිගන්නෙ නැති වෙන්නත් පුළුවන්. නමුත් ඒක තමයි මනෝමය හැකියාව කියන්නෙ. යම් කිසි අධ්‍යාත්මික ශක්තියක් ගොඩ නගාගත්තම ඒක විවිධාකාර දේවල් ඔස්සේ පාවිච්චි කරල, හිතන හිතන දේවල් ඉබේම නිර්මාණය වෙන තත්වයට පත් කර ගන්න පුළුවන්. ඇඹුල් පහක් අර වගේ වෙනස් කරන්න පුළුවන් නම්, කිරණමය කයේ වෙනසක් කරල ඔය වගේ පරිවර්තන කරන්නත් පුළුවන්. ඒක අධිෂ්ඨානය පරිදි විශ්ව ශක්තියත් එක්ක නිර්මාණය වෙන්න පටන් ගන්නවා. භෞතික ලෝකයක් වගේ තවත් ලෝකයක් ඒ සමගම ක්‍රියාත්මක වෙනව කියල මස් ලේ ඇහැටම පේන්න ගන්නවා. ඒ වගේම අතින් ස්පර්ශ කරල බලන්න පුළුවන් මට්ටමටත් එනවා.

හැබැයි හැම වෙලාවෙම ඒ හැකියාව එන්නෙ නෑ, හැම වෙලාවෙම පේන්නෙත් නෑ. එහෙම කරන්න පුළුවන් අවස්ථා, පේන වෙලාවල් තියෙනවා. ඒ වගේ පේන වෙලාවක් වුනොත් ඒක හුඟක් බලවත් වෙනවා. විශේෂයෙන් සමාධියෙන් කරන බේත්හේත් කටයුතු ඒ වගේ ක්‍රමයකින් හුඟක් පහසුවෙන් කරන්න පුළුවන්. ඒ වගේ අභිඥා ශක්තිය නගන කාලවලට ඒ වගේ දේවල් කරන්න පුළුවන්. ඍද්ධිවිධ, මනෝමය ඍද්ධි ආදී වශයෙන් කියන්නෙත් ඔය වගේ හැකියාවන්.

එතකොට මේ කියන හැකියාව සනීභවන මට්ටමට ඇවිත් නැවතත් යටපත් වුණා. මොකද මම පසු කාලයක ඒ වගේ ලෞකික කටයුතු පැත්තකට දාල තනිකරම නිවන් දකින විදර්ශනා පැත්තට යොමු වුණා. එතකොට ඒ හැකියාව දිගටම හිටින්නෙ නෑ. මොකද ඒවත් එක්කම යම් යම් විරුද්ධ බලවේගත් ආවා. ඒ බලවේගවල සම්බන්ධ වීමෙන් යම් යම් අවුල් ඇතිවෙලා ඒ හැකියාව යටපත් වුණා. ඒ නිසා දැන් කවුරු හරි කිව්වොත් ඒ වගේ දෙයක් කරල පෙන්වන්න කියල දැන් ඒක කරන්න බෑ. ගෙඩියක් තියෙන කෙනෙක් ආවොත් ඔන්න එහෙනම් බලාගන්න කියල එහෙම කරන්න බෑ. ඒ මතු වෙච්ච කාලයට පෙන්නුව මිසක් අනික් කාලවලට නෑ. අනෙක මම දැන් ඒ වගේ වෙද හෙදකම් කරන කටයුතුවලින් සම්පූර්ණයෙන්ම ඈත් වෙලා ඉන්නෙ. මොකද නිවන් දකින්න මහණ වුණාට පස්සෙ ඒ වගේ දේවල් ගැලපෙන්නෙ නෑ. ඒ නිසා දැන් එදා කරපු බේත් හේත් ක්‍රම ලෝකයාට අනුකම්පාවෙන් හෙළිදරව් කරනවා මිසක් මම ඒ කටයුතුවලට සම්බන්ධ වෙන්න යන්නෙ නෑ.

සටහන:

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ගිහි පැවිදි සැමට ගැලපෙන සාසනික ප්‍රත්‍යවේක්ෂාවේ වටිනාකම

භික්ෂූන් වහන්සේලාට චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍ය කියල සිවුපසයක් තියෙනව වගේම ගිහි අයට ඇඳුම්, ආහාර, වාසස්ථාන, බෙහෙත් කියල මේ ජීවිතය පවත්වාගෙන යන්න අත්‍යවශ්‍ය අංග 4 ක් තියෙනවා. ඒ කියන්නෙ මනුස්සයෙක් වශයෙන් ඉපදුනාට පස්සෙ ජීවිතය කෙළවර වෙන කල් පවත්වාගෙන යන්න අත්‍යවශ්‍ය අංග 4. ඒ නිසා කාමයන්ගෙන් මත්වෙලා විසම කාමයන් සඳහා පරිහරණය කරන දේවල් සිවුපසයට අදාළ වෙන්නෙ නෑ.



ඉස්සර හිටපු භික්ෂූන් වහන්සේලා සහ බෞද්ධ ගිහි පින්වතුන් මේ 4 බොහොම අවබෝධයෙන් යුක්තව පරිහරණය කරපු නිසා ඒවායින් එන්න තිබ්ච්ච දොස් කරදර බොහොමයක් අඩු වුනා වගේම මනුස්සයො අතර කලකෝලහල අඬදබරත් අඩු වුනා. ඒකට ප්‍රධාන හේතුව තමයි මේ කියන සිවුපසය එදා වැඩ හිටපු භික්ෂූන් වහන්සේලා ප්‍රත්‍යවේක්ෂා කර ගැනීමත්, ඒ ආහාසය එදා හිටපු බෞද්ධයින්ට ලැබීමත් කියන කාරණය.

ප්‍රත්‍යවේක්ෂා කිව්වම යම්කිසි දෙයක් ප්‍රත්‍ය වෙන ආකාරයක් තියෙනවා. ප්‍රත්‍ය+වේ+ක්‍ෂාව - ක්‍ෂාව කියන්නෙ ක්ෂය වෙච්ච ඒවා. ක්ෂය වෙච්ච ඒවාට ප්‍රත්‍ය වෙනවා. ඒ කියන්නෙ ශරීරය පවත්වාගෙන යන්න තියෙන මොනවහරි අඩු පාඩුවලට ප්‍රත්‍ය හෙවත් සහයෝගය දෙනවා. එහෙම නැත්නම් යමක් ක්ෂය කරන්න ප්‍රත්‍ය වෙනවා. ධර්මයට අනුකූලව ප්‍රත්‍ය වෙනවයි කියන්නෙ අලෝභ, අදෝස, අමෝහයෙන් රාගක්ෂයට, ද්වේශක්ෂයට, මෝහක්ෂයට ප්‍රත්‍යවීම. රාග, ද්වේශ, මෝහ ක්ෂය කරන්න ප්‍රත්‍ය වෙන දේ.

එතකොට කන බොන ආහාර කොහොමද ඒ සඳහා ප්‍රත්‍ය වෙන්නෙ? කන බොන ආහාරය දිරවනකොට සියල්ලම සුද්ධාෂ්ටක බවට පත්වෙන්නෙ නෑ. කොටසක් අපද්‍රව්‍ය විදිහට පිටවෙලා යනවා. සුද්ධාෂ්ටක බවට පත්වෙන කොටසින් නැවත වතාවක් පුද්ගලයගෙ චිත්ත ගතියට අනුකූලව සංයුතියක් හැදෙනවා. ඒ සංයුතිය අහක් කරන්න බෑ. ඒ විදියට ලෝක සත්වයාට හැදෙන උපරිම සංයුතියක් තියෙනවා. ඒ කියන්නෙ කාම ලෝකයේ ඉන්න සත්වයින්ට වෙනම සංයුති පරාසයක් තියෙනවා. ඒක ඒ ඒ සත්ව කොට්ඨාසයේ ගති ස්වභාවය අනුව වෙනස් වෙනවා. අන්න ඒ සංයුතිය ස්වභාවිකව ඉක්මවන්න බෑ. කාම ලෝකයෙන් එහාට ඒ සංයුතිය ඉක්මෙව්වොත් ඒ පුද්ගලයා කාම ලෝකයෙන් නිදහස් කෙනෙක් බවට පත්වෙනවා. ඒ පුද්ගලය නැවත වතාවක් කාම ලෝකය පාලනය කරන්න ලෝභ සිතින් අල්ල ගන්න කෙනෙක් නෙවෙයි. එතකොට ඊට මෙහා ඉන්න අයට නියමිත සංයුතියක් තියෙනවා. අන්න ඒ නියමිත සත්ව කොටසට අදාල සංයුතියේ අංශු වෙනස් කරන්න බෑ. උදාහරණ විදියට එකම ආහාරයක් ගත්තත් මනුස්සයින්ට මිනිස් ලේ, බල්ලට බලු ලේ, බළලට බළල් ලේ හැදෙන්නෙ ඒ කියන ආවේනික සංයුතිය නිසා. එබඳු පිඬුවලින් තමයි ඒ අයගෙ ශරීර හැදිල තියෙන්නෙ.

අපි මොනව හරි සත්වමය හෝ ශාකමය ආහාරයක් ගත්ත නම්, ඒ හැම එකකින්ම අපේ ශරීරයට ජීර්ණය වන කොටසක් තියෙනවා. ඒ ජීර්ණය වන කොටස ක්‍රමයෙන් සියුම් පදාර්ථයන්ට කැබලි වෙනවා. කබලිංකාර ආහාර කියන එකේ එක අර්ථයක් තමයි ඒ. කැබලි වෙලා බිඳිල ගිහින් පදාර්ථ සංයෝග සියුම් වෙලා අන්තිමට සුද්ධාෂ්ටක කියන තත්වයටම පත්වෙනවා. ඕජාව අටවෙනි කරගෙන තියෙන රූප කලාප හෙවත් ඕජා අෂ්ටමක රූප කලාප කියන්නෙ ඒවාට. ඒවා ඉතා සියුම්. ඒකත් එක්තරා රසායනික පරිවර්තනයක්. ඒ රසායනික පරිවර්තන කරන්නෙ කර්ම බලයෙන්. ඒ ක්‍රමයෙන් තමයි ඒ ආහාර සත්වයාගෙ ශරීරයට අවශ්‍ය කරන තත්වයට පත් කරන්නෙ. මොන ආහාරයක් ගත්තත් ඒක පරිවර්තනය කරල ඒ සත්වයාගෙ/පුද්ගලයාගෙ ශරීරයට ගැළපෙන ස්වභාවයට පරිවර්තනය කරනවා. ප්‍රත්‍යවේක්ෂා කළත් නොකළත් කර්ම ශක්තියේ මූලිකත්වයෙන් තමයි ආහාර දිරවන්නෙ. නමුත් ප්‍රත්‍යවේක්ෂා කරන කොට සහජාත කර්ම ශක්තිය බලපාන නිසා ඒ අංශුවල පරිවර්තනයෙන් ඊට අනුකූලව වෙනස්කම් ඇති වෙනවා. ඒ කියන්නෙ ප්‍රත්‍යවේක්ෂා ඥානයට අනුව ඒ අංශු වෙනස් වෙනවා.

එතකොට ප්‍රත්‍යවේක්ෂාව කියන්නෙ යම්කිසි වීතරාගී ගුණයක් නිසා ඒ අංශුවලටත් ඒ ගුණයේ ශක්තිය කාවැද්දෙනවා. ඒ නිසා මනුස්සයගෙ සරාගී බව නිවෙන පැත්තට පත් වෙනවා. කාමයන්ගෙන් කය කුපිත කරන්නෙ නෑ. ප්‍රත්‍යවේක්ෂාව නිසා එහෙම ස්වභාවයක් ඇතිවෙනවා. ප්‍රත්‍යවේක්ෂාව අවංකව සිද්ධ වෙනව නම්, ඒ ආහාරය සුද්ධාෂ්ටක බවට පත්වෙලා පුද්ගලයගෙ ගතිය අනුව නැවත ශරීරය ගොඩනැගෙනකොට ප්‍රත්‍යවේක්ෂා අදහසට අනුකූලවයි ☞

ගොඩනැගෙන්නෙ. ඒ සුද්ධාෂ්ටක අංශුවලින් තමයි ඒ පුද්ගලයගෙ ශරීරය හැදෙන්නෙ. ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්නකොට ඒකයි සිද්ධ වෙන්නෙ.

ඒ වගේම සිවුපසය ප්‍රත්‍යවේක්ෂා කරල ගන්නකොට, ඒ සිවුපසය යම් කිසි වෙනත් කෙනෙක් විසින් නම් ලබා දෙන්නෙ, ඒ ලබා දෙන කෙනාටත් ලැබෙන ආනිසංස වැඩි වෙනවා. මොකද ප්‍රත්‍යවේක්ෂාව කියන්නෙ එක්තරා ගුණයක් නිසා. ආහාරයක් නිකං ගන්නවට වඩා ප්‍රත්‍යවේක්ෂා කරල ගන්නකොට ගුණ වැඩෙනවා. ඒ වගේම ඒ ආහාරය ප්‍රත්‍යවේක්ෂා කරන කොට, ඒ ආහාරය සකස් කරන්න සහසම්බන්ධ වෙච්ච කවුරු හරි ඉන්නවනම්, ඒ සියලු දෙනාටමත් පොදුවේ සුගතිගාමීව සම්මා දිට්ඨික තත්වයට පත්වෙලා, ආර්ය මාර්ගය පූර්ණ කරන්න හේතු වාසනා ලැබේවා කියල ප්‍රාර්ථනා කිරීමෙන් ඒ ශක්තිය තවත් වැඩි වෙනව වගේම, ඊට සම්බන්ධ වෙච්ච අන්‍ය සත්වයන්ටත් යම් කිසි ශාන්තියක් ලබන්න හේතු වෙනවා.

අනෙක් කාරණය තමයි **විශේෂයෙන් ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්නකොට ඒ ආහාරවල තියෙන වස විස වුනත් ඒ පුද්ගලයගෙ නැගෙන ශක්තිය අනුව එක්තරා මට්ටමකින් කැපිල යනවා. මොකද සාසනික ගුණයක් වැඩෙන කොට ඊට අනුකූලව පරිවර්තනයක් සිද්ධ වෙනවා. ඒ ආහාරයේ තියෙන වස විස වුනත් එක්තරා ආකාරයකට පරිවර්තනය වෙලා ඉවත් වෙන්න හේතු වෙනවා. උදාහරණයක් විදියට මෙත් සිතක් වඩනකොට ගිනි විස, වස විස, සැත් පහර වදින්නෙ නෑ කියල ධර්මයේ පෙන්වා තියෙනවා. මෙත් සිතක් වඩනකොට ලැබෙන ආනිසංස 11 ට ඒ කාරණාත් අයිති වෙනවා (මෙත්තානිසංස සූත්‍රය). ප්‍රත්‍යවේක්ෂා කරන කොටත් එහෙම ගුණයක් නැගෙනවා. ඉතින් මේ කාලෙ වෙනකොට මනුස්සයින්ට බොහෝ කොටම කන්න බොන්න සිද්ධ වෙලා තියෙන්නෙ වස විස නිසා ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගැනීම ඒ අතිනුත් වැදගත් වෙනවා.**

ප්‍රත්‍යවේක්ෂාව මුලින්ම පටන් ගත්තම ඒක ක්‍රමයෙන් වැඩෙනවා. කවද හරි ක්‍රමයෙන් වැඩිල ගිහින් ඒකට නිකම්ම හුරු වෙනවා. එතකොට කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, කාම සම්භෝගය පිණිස නෙවෙයි බඹසර හැසිරීම පිණිසයි... ආදී වශයෙන් කියල, ගිහි වතක ඉන්න අය කම් සැප විඳින කොට එතන පරස්පරයක් ඇති වෙනව නේද කියල. නමුත් තම තමන්ට පුළුවන් මට්ටමටයි මේ ප්‍රත්‍යවේක්ෂාව වඩන්න. ඒ වඩන ප්‍රත්‍යවේක්ෂාවට හිමි ශක්ති කොටසක් තියේනම් ඒකෙන් ඒ බඹසර හැසිරීම කියන කාරණය සිද්ධ වෙනවා. කාම සම්භෝගයට හිමි කොටසක් තියේනම් ඒ කොටසින් ඒ කාරණය සිද්ධ වෙනවා. අනෙක ඒ විදියට අවංකව දිගටම කරගෙන ගියොත් කාම සම්භෝගයේ යෙදෙන කොට වුණත්, මම අහවල් දේටනේ ප්‍රත්‍යවේක්ෂා කළේ කියල ප්‍රත්‍යවේක්ෂාව සිහි වෙනවා. එතකොටත් කලින්ට වඩා යම් කිසි දාහයක් අඩු වෙනවා. අධික කාමුකයෙක් නම් ඒ කාමුක බව දුරු වෙන්නත් යම් කිසි උපනිශ්‍රයක් ලැබෙනවා. දිගටම ප්‍රත්‍යවේක්ෂාව කරනකොට ඒ ශක්තිය ක්‍රමානුකූලව නැගෙනවා.

කබලිංකාර ආහාරයට තියෙන ඡන්දරාගය දුරු කිරීම අනාගාමී බවටත් හේතුවේ කියල සතර ආහාර ගැන විග්‍රහ කරන කොට ධර්මයේ පෙන්වා තියෙනවා. ඒක උපමාවකින් තමයි පෙන්වන්නෙ. යම් කිසි ගෙදරකට නැගෙනහිර තියෙන කවුළුවකින් හිරු එළිය වැටෙන කොට ඒ එළිය කොතනටද වදින්නෙ කියල අහනවා. ඒ කවුළුව වහල තිබුණනම් ඒක ඒ ගෙදර පිට බිත්තියේ වදිනවා. ඒ පිට බිත්තියේ විවරයක් තිබුණොත් ඒකත් පසු කරගෙන ඒ එළිය යනවා. විවරයක් නොතිබුණොත් එළිය රැඳෙන්නෙ නෑ. මේ වගේ කබලිංකාර ආහාරයට යම් කිසි ඡන්දරාගයක් තිබිල ඒක දුරු වෙච්ච කෙනාටත් අර විවර නැති ගෙදර ආලෝකය රැඳෙන්නෙ නෑ වගේ ඡන්දරාගය දුරු වෙලා අනාගාමී ඵලයට පත්වෙනවා. මොකද ඡන්දරාගය රැඳෙන්න තැනක් නැති නිසා.

එතකොට මේ කියන ප්‍රත්‍යවේක්ෂා කිරීම ආහාරවලට විතරක් නෙවෙයි ඇඳුම් පැළඳුම්, ගේදොර වතුපිටි, යානවාහන..... ආදී ජීවිතය පවත්වාගෙන යන්න පරිහරණය කරන සියලු දේට අදාලයි. භික්ෂූන් වහන්සේලාට නම් පිණ්ඩපාතයට අමතරව චීවර, සේනාසන ගිලාන ප්‍රත්‍යය. උන්වහන්සේලාට ප්‍රත්‍යවේක්ෂාව කොහොමත් විශේෂයි. ඒ වගේම ඉස්සර හිටපු ගිහි බෞද්ධයොත් මේ හතර පරිහරණය කළේ නිකම්ම විනෝදයෙන් කාල බීල ජීවත් වෙලා හිස් අතින් මැරිල යන්න නෙවෙයි. මැරෙන කල් මේ කය පවත්වගන්න අවශ්‍ය ඒ සිවුපසය පරිහරණය කරමින් එලොව, මෙලොව, නිවන කියන තුන් පොලටම වැඩ සලසගන්න. නමුත් දැන් මොකද වෙලා තියෙන්නෙ? මේ සියල්ලම උඩු යටිකුරු වෙලා. කුසගින්නට ආහාර ගැනීම, රස විඳින්න ආහාර ගන්න තත්වයට පත්වෙලා. ඉස්සර මිනිස්සු ජීවත් වෙන්න කෑව මිසක් කන්න ජීවත් වුනේ නෑ. නමුත් දැන් ඒකෙ අනික් පැත්ත. තියෙන රස මදිවට විවිධාකාර රසකාරක, වර්ණක දාල දිවට විතරක් නෙවෙයි ඇස් දෙකටත් පේන්න කන්න ඕන වෙලා. එකම පදාර්ථවලින් හැදිච්ච ආහාර, විවිධාකාර නම්වලින්, හැඩයෙන්, වර්ණයෙන් වටකරල මිනිස්සු මුලාවට පත්වෙලා. ඉතින් සමහරු රුපියල් සියයකින් කන්න පුළුවන් ආහාර වේලට රුපියල් හත් අටසියයක් වියදම් කරනවා. නමුත් ඒකෙ තියෙන්නෙත් අර රුපියල් සීයෙ ආහාර වේලෙ තියෙන ඒවම තමයි. රවුම් කරල කරකවල හැඩගැන්නුවම ඒකට රැවටෙනවා. උගුරෙන් පහලට යන තත්පර ගණනටයි මෙච්චර රැවටෙන්නෙ. කනබොන ආහාර විතරක් නෙවෙයි, අර කියපු එදිනෙදා පරිහරණය කරන අනෙක් සියල්ලමත් එහෙමයි.

නමුත් ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්නකොට රස පිණිස නෙවෙයි, අසීමිතව බඩ පුරව ගන්න නෙවෙයි, හැඩවැඩ වෙන්න, ලස්සන වෙන්න නෙවෙයි, කාම සම්භෝගය සඳහා නෙවෙයි... ආදී වශයෙන් කියන්නෙ, මේ කය නිරුපද්‍රිතව පවත්වගෙන යන්න හේතුවෙන්න. හැබැයි නිරුපද්‍රිතව පවත්වගෙන නිකං ඉන්න නෙවෙයි. මේ සසර ගමනින් මිදෙන්න උත්සාහ කරන්න. ඒ විදියට කය නිරුපද්‍රිතව පවත්වගෙන යන්න ප්‍රත්‍යවේක්ෂාවෙන් ආහාර ගත්තම ඒ ආහාරය ඒ හේතුවට අනුකූලව කයට ප්‍රත්‍ය වෙනවා. කයට ආබාධ එන්නෙ ප්‍රධාන වශයෙන් ලෝභ, ද්වේශ, මෝහ මුල් කරගෙන කර්ම විපාක වශයෙන්. ඒ විදියට කයට ලෙඩ හැදෙන ක්‍රම 8 ක් පෙන්වා තියෙනවා. වාත සමුට්ඨානා, පිත්ත සමුට්ඨානා, සෙම්හ සමුට්ඨානා, උතු පරිණාමජා ආබාධා,

උපක්‍රම්කාබාධා, කම්ම විපාකාබාධා, විසම පරිහාරජාබාධා (විසම විදිහට පරිහරණය කිරීම නිසා ඇතිවන ආබාධ)... ආදී වශයෙන්. එතකොට පුණ්‍ය කර්ම බලවත් නම් අනික්වා බොහෝ කොටම යටපත් වෙනවා. ඒවා බලවත් වෙන්නෙ නෑ. අලෝභ, අදෝස, අමෝහ කියන්නෙ රෝග හදන ඒවා නෙවෙයි. ඒ නිසා දෙවියන්ට ලෙඩ රෝග බොහොම අඩුයි, අල්පාබාධයි. මොකද ආබාධ නැති කෙනෙක් කිසිම ලෝකයක නෑ කියල ධර්මයේ පෙන්වනවා. දෙවියන්ට බ්‍රහ්මයන්ට වුනත් ඒ ඒ අයගෙ මට්ටම්වල හැටියට තියෙනවා. ලෝභ, දෝස, මෝහ තියෙන අයට බහු ආබාධයි. **ප්‍රත්‍යවේක්ෂා කරන කොට වැඩෙන්නෙ අලෝභ, අදෝස, අමෝහ. එතකොට ඒ විදියට ගන්න ආහාර නිසා ලෙඩ රෝගත් හුඟක් අඩු වෙනවා. ඒ නිසා ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගැනීම කාටත් හොඳයි.**

එතකොට මේ කාම සම්භෝගයයි, ප්‍රත්‍යවේක්ෂාවයි කියන්නෙ කාරණා 2 ක්. ප්‍රත්‍යවේක්ෂාවෙන් කරන්නෙ කාම සම්භෝගය නෙවෙයි, කාමයේ බැඳීම නෙවෙයි, ප්‍රයෝජනය තකා පරිහරණය කිරීම. කාම සම්භෝගයන්ගෙ බැඳෙනවයි කියන්නෙ කන බොන ආහාර, දේපල ඉඩකඩම්, යානවාහන, අඹුදරුවො ආදී සියල්ලටම ඡන්දරාගයෙන් බැඳීම. ඒ කියන්නෙ පරිහරණයට විතරක් සීමා නොවී බැඳිල ඉන්නවා. ගහනයයි, පටිග්ගහනයයි කියන්නෙත් කාරණා 2 ක්. පටිග්ගහනයෙදි පටියකින් බැන්ද වගේ තදින් බැඳිල ඉන්නවා. ගහනයෙදි පරිහරණයට විතරක් බැඳිල ඉන්නවා. ඒ කියන්නෙ සැප විඳින්නෙ නෑ කියන එක නෙවෙයි. අල්ලගෙන බදාගෙන රණ්ඩු වෙලා ගැටෙන්න යන්නෙ නෑ. නමුත් පටිග්ගහනයෙදි ගැටෙන්න වෙනවා. එතකොට ප්‍රත්‍යවේක්ෂාව කාම සංකල්පයට / සංකල්පිත රාගයට අයිති නෑ. ඒකට කාම අදහස් සම්බන්ධ නෑ.

ඊළඟට ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගන්න කොට මද පිණිස නෙවෙයි, ජව පිණිස නෙවෙයි කියල කියනවා. මොකද මිනිස්සු කාමයන්ගෙන් මත් වෙලා අනුන්ට බලය පෙන්වන්න විවිධ ආහාර වර්ග ගන්නවා. තමන්ට පොඩ්ඩක් තිබුණත් මම මෙහෙම කෙනෙක් කියල බල පෙන්වන්න හදනවා. මිනිස්සු දුවන්න, පනින්න ආහාර අරගෙන බලය පෙන්වල පලවෙනි තැන ගන්න දඟලනවා. ප්‍රත්‍යවේක්ෂාවේදි ඒව නෑ. න මදාය - මද කියන්නෙ මත්වීම. න මදාය කිච්චම මත් වෙන්න නෙවෙයි. සුරාමේරය මජ්ජපමා... සුරාව කියන්නෙ සුවය කරා, මේරය - මිහිරියාව. මිහිරියාව ඉක්මෙච්චම මජ්ජ. ඒ කියන්නෙ මත් වෙනවා. ප්‍රමාදයට හේතු වෙනවා. නමුත් ඊට මෙහා මත්වෙන්න ගන්නෙ නෑ. කාමයන්ගෙන් මත්වීම කියන තත්වයට පත් වෙන්නෙ නෑ. නමුත් කාම රාගය, මිහිරියාව තියෙනවා. ඒ තමයි සුරා මේරය. ඒක ඉක්මවන්නෙ නෑ.

මහමෙර උඩ තියෙන්නෙ තාවතිංසය. තාවතිංසයේ අය මත් වෙලා ගැටෙනව අඩුයි. ඊට මෙහා පහලින්



ඉන්න අය මත්වෙලා ගැටෙනවා. ඉහල ඉන්න අයට රූප රාග, ශබ්ද රාග ආදී ඔක්කොම තිබුණට ගැටෙන්න යනව අඩුයි. හැබැයි මිහිරියාව විඳිනවා. ඊට පහල අය දේපල ඉඩකඩම්, යානවාහන, අඹුදරුවො, මිලමුදල්..... මේ සියල්ලම බදාගෙන මගේ කියල මත්වෙලා ගැටෙන්න යනවා. එක්ව කතත් බොක්ක වෙනයි කියන ජාතියේ අය. ඒ කියන්නෙ එකතු වෙලා කෑවත්, වැඩියෙන් කා ගත්තොත් තමන්ටනේ කියන ඒවගේ අදහස් / ගති ලක්ෂණ තියෙන අය. තමන්ගෙ දැඩි ආත්මාර්ථකාමීත්වය නිසා පුද්ගලයා තමන්ට විතරක් ප්‍රයෝජන ගන්න බලනවා. ඒ වුණාට එකට කනවා. මසුරු පුද්ගලයගෙ ස්වාභාවය තමයි මේ පෙන්වන්නෙ. නමුත් මසුරු 5 ක් දුරු කරපු සෝවාන් පුද්ගලයා මේ කාරණයට අයිති නෑ.

ප්‍රත්‍යවේක්ෂා කරල ආහාර ගත්තම ඒ ආහාරය දිරවන්නෙ සහජාත කර්ම ශක්තිය සමඟ නානාක්ෂණික කර්ම ශක්තියත් සම්බන්ධ වෙලා. එතනදි සහජාත කර්ම ශක්තිය වැඩ කරල ඒ ආහාරය දිරවන්නෙ බඹසර හැසිරීමට උපනිශ්‍රය වන විදිහට. ප්‍රත්‍යවේක්ෂා නොකළොත් ඒ වෙලාවෙ ගන්න සිතිවිලි අනුව සහජාත කර්ම ශක්තිය සම්බන්ධ වෙන්නෙ කාමයට අඩු තැන් පුරවන්න, හැඩ වැඩ වෙන්න... ආදී කාරණාවලට. නානාක්ෂණික කර්ම ශක්තිය කියන්නෙ කර්ම වේගයෙන්ම එන එකක්. ඒ කියන්නෙ උපතත් එක්ක එන ජනක කර්මයත් සමග සම්බන්ධයි. උදාහරණ විදිහට අර කලින් සඳහන් කළා වගේ මනුස්සයින්ට මිනිස් ලේත්, බල්ලට බලු ලේත් එන්නෙ ඒ කර්ම ශක්තිය නිසා. සහජාත කර්ම ශක්තියෙන් එන්නෙ දන් කරන වැඩපිලිවෙලේ චිත්ත ශක්තිය. ඒක කර්මයත් එක්ක ඒ මොහොතේ එන එකක්. සහජාත කිව්වම අපි හිතන හිතන මොහොතක් ගානෙ ඒක වැඩ කරනවා. ඒකට ප්‍රත්‍යවේක්ෂා කරන්නම ඕන නෑ. අපි ද්වේශ සහගතව හිතුවොත් ඊට අනුව සහජාත කර්ම ශක්තිය වැඩ කරනවා. අප්‍රියතාවයක් හිතුවොත් අප්‍රියව නැගිල එනවා. ඒ අනුව ක්‍රියා කරනවා. හිතන හිතන හැටියට ඒක නැගිල එනවා. ප්‍රත්‍ය-වේක්ෂා කරනකොට සහජාත කර්ම ශක්තිය ඊට අනුකූලව ඒ මොහොතෙම සම්බන්ධ වෙනවා.

**එතකොට මේ ප්‍රත්‍යවේක්ෂා කරන ආහාරයට අමනුස්සයන්ට ඇඟිලි ගහන්නත් බෑ. ඒ නිසා අමනුස්සයින්ට ඒ ආහාරය ජරා කරන්න බෑ. ඒ අයගෙන් එන්න තියෙන බඩේ අජීර්ණ ආදී දොස් එන්නෙත් නෑ. ආහාර විතරක් නෙවෙයි, ඕනම දෙයක් ප්‍රත්‍යවේක්ෂා කරල පරිහරණයට ගත්තම අමනුස්සයින්ට සම්බන්ධ වෙන්න බැරිව යනවා.** ඒක විශේෂයි. මොකද ප්‍රත්‍යවේක්ෂාවත් එක්කම ඒක සාසනික ගුණයට අයිති වෙනවා. වචනයෙනුත් සාසනික ගුණයට අයිති වෙනවා. ගිහි කෙනෙක් කළත් ඒක එහෙමයි. එතකොට ඒක අමනුස්සයින්ට ඒ ලෝකෙ හැටියට ගිනි වගේ පේන්න ගන්නවා. ඒක ගිනි වගේ දැනෙන්නත් ගන්නවා. මොකද කිරණ ශක්තියත් වැඩ කරන නිසා. හැබැයි ඒ ගිනි කිරණ ☞

මනුස්සයන්ට බලපාන්නෙ නෑ. මොකද මනුස්සයගෙ කිරණ පද්ධතිය වෙනයි. අපි අත තියල ප්‍රත්‍යවේක්ෂා කරල ගත්තම සමාධි වඩපු අයට පේනවා ගිනි පුලිඟු වගේ හටගන්නවා. ඒ සියල්ල ගිනි ගත්ත වගේ තමයි අමනුස්සයන්ට පේන්නෙ. ව්‍යංජනවලත් හැම තැනම ගිනි කිරණ වගේ වැඩ කරනවා. එතකොට අමනුස්සයින්ට ළංවෙන්න බැරිව යනවා. නමුත් ප්‍රත්‍යවේක්ෂා නොකර ගත්තොත් අමනුස්සයින්ට පහසුවෙන් සම්බන්ධ වෙන්න පුළුවන්. ප්‍රත්‍යවේක්ෂා කරල සිවුපසය ගන්න අදහසක්, එහෙම ලකුණක් තියේනම් ඒත් අමනුස්සයින්ට සම්බන්ධ වෙන්න බෑ. ඒ නිසා මේ ප්‍රත්‍යවේක්ෂාව කියන එක කන බොන, අඳින පළඳින, පරිහරණය කරන සියලු දේටම වැදගත්. පහතින් දක්වෙන්නෙ චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍ය කියන සිවුපසයට අදාල ප්‍රත්‍යවේක්ෂා වාක්‍ය.

පටිසංඛායෝනිසෝ චීවරං පටිසේවාමි, යාවදේව සීතස්ස පටිඝාතාය උණ්හස්ස පටිඝාතාය ඩංස මකස වාතාතප සිරිංසප සම්ඵස්සානං පටිඝාතාය යාවදේව හිරිකොපීන පටිච්ඡාදනත්ථං.

**සිහි නුවණින් පරීක්ෂා කර බලා සිවුරු පොරවමි. යම් තාක් සීත, උෂ්ණ නැසීම පිණිස, මැසි මදුරු වාත, අව් වැසි, විසකුරු සතුන්ගේ උපද්‍රව වැළකීම පිණිස, ලජ්ජා බය ස්ථාන ආවරණය කර ගැනීම පිණිස සිවුරු පොරවමි.**

පටිසංඛායෝනිසෝ පිණ්ඩපාතං පටිසේවාමි නේවදවාය න මදාය න මණ්ඩනාය න විභූසනාය යාවදේව ඉමස්ස කායස්ස ඨිතියා යාපනාය විහිංසූපරතියා බ්‍රහ්මචරියානුග්ගහාය ඉති පුරාණඤ්ච වේදනං පටිහංඛාමි නවඤ්ච වේදනං න උප්පාදෙස්සාමි යාත්‍රා ච මේ භවිස්සති අනවජ්ජතා ච ඵාසුවිහාරෝචාති.

**සිහි නුවණින් පරීක්ෂා කර බලා පිඬු වළඳමි. ඒ පිඬු කෙලි සෙල්ලම් පිණිස නෙවෙයි. පුරුෂ මදය වැඩි කරගන්න නෙවෙයි. අලංකාරය පිණිස හෝ කාය සැරසිල්ල පිණිස නෙවෙයි. නොයෙක් ආකාරයේ විච්චූර්ණ කරන්න නෙවෙයි. මේ මිනිස් කයේ පැවැත්ම පිණිසය, යැපීම පිණිසය, බඩ ගිනි කාන්සිය, කැරකිලි, ක්ලාන්ත ගතිය දුරු කරගෙන බඹසර හැසිරීමට අනුග්‍රහයක් පිණිසය. එසේ ආහාර වැළඳීමෙන් පරණ දුක් වේදනා, ලෙඩ රෝග නිසා ඇතිවන දුක් වේදනා නසමි. අලුත් දුක් වේදනාවන් මතු නූපදවන්නෙමි. පහසුවෙන් සහ සුවෙන් විසීමද සඳහා ය.**

පටිසංඛායෝනිසෝ සේනාසනං පටිසේවාමි, යාවදේව සීතස්ස පටිඝාතාය උණ්හස්ස පටිඝාතාය, ඩංස මකස වාතාතප සිරිංසප සම්ඵස්සානං පටිඝාතාය යාවදේව උතුපරිස්සය විනෝදනං පටිසල්ලානාරාමත්ථං.

**සිහි නුවණින් පරීක්ෂා කර බලා සෙනසුන් සේවනය කරමි. යම් තාක් සීත, උෂ්ණ පීඩා නැසීම පිණිස, ඩැහැ ලේ බොන, විද ලේ බොන මැසි මදුරු පීඩා, සුළඟ, අව්ව, වැස්ස, සර්ප ආදීන්ගෙන් එන උපද්‍රවයන් නැසීම පිණිස, ඍතු උපද්‍රව නැසීම පිණිස, සිත එකඟ කිරීමෙහි නියැලෙනු පිණිස සෙනසුන් සේවනය කරමි.**

පටිසංඛායෝනිසෝ ගිලානපච්චය භේසජ්ජ පරික්ඛාරං පටිසේවාමි, යාවදේව උප්පන්නානං වෙය්‍යාබාධිකානං වේදනානං පටිඝාතාය අබ්‍යාපජ්ඣපරමතායාති. අනුප්පන්නානං වෙයියාබාධිකානං ආයතිං අනුප්පාදාය.

**සිහි නුවණින් පරීක්ෂා කර බලා ගිලන්පස, බෙහෙත් පිරිකර වළඳමි. යම් තාක් උපන්නා වූ සිරුර පෙළන දුක් වේදනාවන් ව්‍යාධි ආබාධයන් නැසීම පිණිස, නූපන්නා වූ ආබාධයන් නැවත නූපදීම පිණිස, නිරෝගී බව උතුම් සැපත කොට සලකා ගිලන් පස බෙහෙත් පිරිකර වළඳමි.**

මෙතනදි ගිහි කෙනෙක් ප්‍රත්‍යවේක්ෂා කරනවනම් චීවර කියන තැනට වත්තං(වස්ත්‍ර) කියල දාල කියන්න පුළුවන්. මේ තියෙන සිංහල වාක්‍ය ඒ විදියටම නැතත් තමන්ට පහසු ආකාරයෙන් ඒ අදහස එන විදියට කිව්වම ප්‍රමාණවත්. හැබැයි පාලි වාක්‍ය නම් පෙල දහම වෙනස් නොකර ඒ විදිහටම ගන්න ඕන. මොකද සම්මත කැඩුවොත් කාලයක් යද්දි ඒ වාක්‍ය ව්‍යාකූල වෙන්න පුළුවන්. පාලියෙන් කියන්න බැරි නම් සිංහලෙන් කියන්න පුළුවන්. අවශ්‍ය නම් හඬ නගල කියන්නෙ නැතුව සිහි කරන්නත් පුළුවන්. එතකොට මේ අදහස තමන්ට ගැළපෙන විදිහට ගත්තම ප්‍රමාණවත්. ඒ විදියට පරිහරණය කරන සිවුපසයම ප්‍රත්‍යවේක්ෂා කරල ගත්තම අමනුස්ස බැල්ම අඩු වෙනවා. ගිහි කෙනෙක් කළත් ඒක සාසනික දෙයක් වගේ අමනුස්සයින්ට අතගහන්න බැරිව යනවා. ඒ විදියටම සේනාසනං කියන එකට සෙනසුන් කියල තමන්ගෙ ගෙදර දොර ගන්නත් පුළුවන්. සේනාසන කිව්වම තමන් වාසය කරන ගේ දොර වාසස්ථාන, පරිහරණය කරන වතුපිටි සියල්ලම අයිති වෙනවා. තමන්ගෙ, අනුන්ගෙ කියල භේදයක් නෑ. තමන් පරිහරණය කරන, කුලියට ගන්න එකත් ප්‍රත්‍යවේක්ෂා කරල පරිහරණය කරන්න පුළුවන්.

පිණ්ඩපාතං කියන එකට පිඬු පත/ බත් පත කියල ගන්න පුළුවන්. ඒ කියන්නෙ හිඟමනකින් ගන්න එකක් නෙවෙයි. පිඬු පත කියන්නෙ ආහාර පත, බත් පත කියන එක. ඉතිං කඩයකට ගිහින් මුදල් ගෙවල ආහාරයක් ගත්තත් ඒකත් ප්‍රත්‍යවේක්ෂා කරන්න පුළුවන්. තේ එකක් වුණත් ප්‍රත්‍යවේක්‍ෂා කරන්න පුළුවන්. වතුර හැර අනෙක් සියල්ලම ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න පුළුවන්. මොකද වතුර කියන්නෙ ආහාරයක් නෙවෙයි. ආහාර දිරවන්න අදාළ වන දෙයක්. වාත්තුවට උර දෙනව කියන එකයි වතුර කියන්නෙ. වතුර නැත්නම් ආහාරයේ තියෙන පදාර්ථ දිරවන්නෙ නෑ. වාත්තුවට උර දෙන්නෙ වතුර. භික්ෂූන් වහන්සේ වතුර වෙනුවට පැන් කියල ඉල්ලනවා. පැන් කියන්නෙ පානය කියන එක. ප්‍රාණයේ පැවැත්මට ආධාර වෙන්නෙ පැන්. ඒ කියන්නෙ පණට ආධාර වෙනවා. ඒක තමයි ඉස්සර තිබිච්ච නියම සිංහල වචනය. භික්ෂූන් වහන්සේලා නානව කියල කියන්නෙත් නෑ, පැන් පහසු වෙනව කියල තමයි කියන්නෙ. මොකද නානව කිව්වම, හා එහෙනම් නාගෙන වරෙන් කියල කුණු නාන ඒවටත් නානව කියල කියන නිසා. ඒ නිසා විශේෂයෙන් භික්ෂූන් වහන්සේලා පාවිච්චි කරන්නෙ සුද්ධ හෙළ වචන. ඒ හෙළ වචන ආවෙ බුදුන් වහන්සේගෙන්. මොකද සීහල (ශ්‍රේෂ්ඨ ළයක් ඇති) හෙවත් හෙළයින්ගෙ නායකයා තමයි බුදුන් වහන්සේ.

ඉතින් මේ විදිහට ප්‍රත්‍යවේක්ෂා කළාම ගිහි අයට වුනත් කාමයෙන් මත්වෙන ගතිය අඩු වෙනවා. ඔය වගේ ආර්ය මාර්ගයේ යමින් අවංකවම ප්‍රත්‍යවේක්ෂා කරන ගිහි පින්වතුන් දිහා බැලුවොත් ඒ අය මත් වෙලා නෑ. මුදල්, ඇඳුම්, යානවාහන පරිහරණය කරනවා. වැඩපලට ගිහින් ඒ වැඩ ගැනත් ☞

හොයල බලනවා. හැබැයි එතනට ගිහින් සිල් වතක් පෙන්නගෙන ඉන්නෙ නෑ. සම්මතයේ පවතින විදිහට තැනේ හැටියට හැසිරෙනවා. නමුත් ගෙදර ඉන්නකොට ඒකට අනුගත වෙලා ඉන්නවා. එහෙම නැතිව වැඩ කරන වෙලාවටත් සුදු ඇඳගෙන කණකර ආභරණයක්වත් නොදා, ඔරලෝසු-වක්වත් බඳින්නෙ නැතිව එහෙම ඉන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ අය පිටින් බලල හොයන්න බෑ. නමුත් පුද්ගලය අවංකයි. ඒ වගේ අයට අවංක වෙන්න බැරිකමක් නෑ. ලෝභ, දෝස, මෝහවල ගැටිල ඉන්න අයටයි ඒක කරන්න බැරි. අනිත් අයට කිසි අමාරුවක් නැතිව කරන්න පුළුවන්. වරදින්නෙ නෑ. හැබැයි අවංක නැති අයට ඒක කරන්න බෑ. මොකද කොච්චර කිව්වත් අදහස හිතට එකඟ නෑ.

ඉතින් මේ ප්‍රත්‍යවේක්ෂාව මේ කාලයට වුනත් බොහොම වටිනවා. එතකොට ගිහි කෙනෙකුට වුනත් මේ කියන ප්‍රත්‍යවේක්ෂාව දවසට සැරයක් හරි කරන්න පුළුවන්. කන බොන වෙලාවටම ඕනත් නෑ. උදේ හෝ දවල් හෝ රාත්‍රී හෝ දවසට සැරයක් කළත් ඇති. හැබැයි කන බොන දේවල් නම් ඒ වෙලාවට ප්‍රත්‍යවේක්ෂාව කරල අනෙක් ඒවාට අර වගේ දවසට සැරයක් කිරීම තමයි වඩා සුදුසු. ලෙඩට බේත් කියන එකත් ඒ බේත් ගන්න වෙලාවට කරන්න පුළුවන්. ඒ කියන්නෙ ගිලනෙකුට ප්‍රත්‍යවෙන බෙහෙත් විදියට සිහි කරල ගන්නවා. ඒ විදියට ගත්තම කාටත් හොඳයි, කාටත් ගැළපෙනවා. බෞද්ධ අයට විතරක් නෙවෙයි ලෝක සම්මත වෙනත් ආගම් අදහන අයටත් හොඳයි. ඒ සම්බන්ධ-යෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ලබපු අත්දැකීමක් උන්වහන්සේ මේ විදියට හෙළිදරව් කළා.

මේ කාරණය මට එක්තරා වෙළෙන්දෙක් තමයි කිව්වෙ. එක්තරා මනුස්සයෙකුට ඉක්කාවක් හැදිල නවතින්නෙ නැතිව තිබුණලු. පස්සෙ මුස්ලිම් ජාතිකයෙක්, ඕකට මන්තරයක් තියෙනවා ඒක දෙන්නම් කියල, පටිසංඛායෝනිසෝ පිණ්ඩපාතං පටි-සේවාමි නේවදවාය න මදාය... ආදී වශයෙන් කිව්වලු. එතකොට අර මනුස්සය කිව්වලු, ඔය අපේ හාමුදුරු-වරුන්ගෙ ප්‍රත්‍යවේක්ෂා වාක්‍යයක්නෙ ඔයගොල්ලො ඒක දන්නෙ නෑ කියල. ඉතිං මේ මනුස්සය ඒ වාක්‍යය තුන් වතාවක් කියනකොට අර නවත්ව ගන්න බැරි ඉක්ක වැටීම නතර වුණාලු. එතකොට අර මුස්ලිම් ජාතිකයා කිව්වෙ ඕක අපි දන්න මන්තරයක් කියල. නමුත් ඒක හරියට හරි. ඒ අය ඒක පාඩම් කරගෙන ඔය වගේ අවස්ථාවලට පාවිච්චි කරනවා. මේ විදියට ආගම් භේදයකින් තොරවත් එදිනෙදා පරිහරණය කරන සිවුපසයටම මේ ප්‍රත්‍යවේක්ෂාව යොදා ගන්න පුළුවන්.

එතකොට කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්,ප්‍රත්‍යවේක්ෂා කළාම සාසනික වෙනවනම් කොහොමද ඒක අන්‍යාගමිකයො කරන්නෙ කියල. නමුත් ප්‍රත්‍යවේක්ෂා කරන කොට සාසනික කියන වචනය නෙවෙයි, මේ ආහාරය ප්‍රාණයේ පැවැත්ම සඳහා ගැනීම කියන එකයි



බලාපොරොත්තු වෙන්නෙ. ලෝක සම්මතයේ අන්‍යාගමිකයෙක් වුණත් ප්‍රත්‍යවේක්ෂා කළොත්, ඒ ප්‍රත්‍ය-වේක්ෂාව සම්බන්ධ වෙලා තියෙන්නෙ ප්‍රාණයේ පැවැත්ම මුල් කරගෙන. සාසනික කිව්වම බෞද්ධ කියල වෙනම හංවඩු ගහන්න අවශ්‍ය නෑ. ස්ව කියන මමත්වය නසන න්‍යාය තමයි සාසනය කියන්නෙ. සාසනය වඩන්න කියලයි කියන්නෙ. ඒ කියන්නෙ මමත්වය නැසීම වඩනවා. ඒකට සම්මත ආගම් භේදයක් නෑ. ඕන කෙනෙකුට කරන්න පුළුවන්. නමුත් අද ආගම් ගත්තම හැම වෙලේම හංවඩු ස්වභාවයෙන් බලන්න පුරුදු වෙච්ච නිසා, අපි හිතාගෙන ඉන්නෙ මේක යම්කිසි කොටසකට විතරක් ආවේණිකයි කියල. නමුත් මේ කිසිම කෙනෙක් ලෝකෙට මුලින්ම එනකොට ඔය මොන ආගමක්වත් කරපින්නගෙන ආවෙ නෑ. උපන්නට පස්සෙයි ආගම් වැළඳ ගන්නෙ.

බුද්ධ සාසනය කියන්නෙ ලෝකයේ හැම කෙනාටම පොදු ධර්මතාවය පෙන්වා දීල මේ සසරින් ගොඩ යන්න තියෙන ක්‍රමය. ඒ නිසා මොන සම්මත ආගමක් ඇදහුවත්, හේතු වාසනා තියේනම් ඒකට ඇතුල් වෙන්න පුළුවන්. බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලයේ විවිධ ආගම්, ලබ්ධි අදහපු අය තමයි පසුව ඒ ධර්මය අහල බෞද්ධ වුනේ, මගඵල ලැබුවෙ. ඒ නිසා මෙතනදි ප්‍රත්‍යවේක්ෂා කරනවයි කිව්වම, ඒකෙ ඒල්ල කරපු පරමාර්ථය මොකක්ද කියල බලන්න ඕන. ප්‍රත්‍යවේක්ෂාවෙදි කියවෙන ඒ අදහසින් ආහාර ගත්තනම්, ලෝක සම්මත මොන ආගමක හිටියත් ඒ පුද්ගලයා සාසන ගුණ මාත්‍රයකට හරි අහුවෙනවා.ලෝක සම්මතයේ අන්‍යාගමිකයෙක් වුනත් ඒ පුද්ගලයගෙ මට්ටමින් බඹසර හැසිරීම ලෞකික මට්ටමින් හෝ සිද්ධ වෙනවා. මොකද අන්‍ය ආගමිකයින්ට කෙලෙස් සහිත සුගතියට හේතුවන ලෞකික ආර්ය අෂ්ඨාංගික මාර්ගයක් තියෙනවා. එතකොට ඒ කියන සුගති පැත්තට අහු වෙනවා.

එතකොට මේ ප්‍රත්‍ය-වේක්ෂාව භික්ෂූන් වහන්සේලා සහ උපාසක උපාසිකාවන් සිහි කරන ක්‍රමයක් තියෙනවා. ඒක එක්තරා ගුණ සිහි කිරීමක්, ප්‍රඥාවෙන් කරන මෙනෙහි කිරීමක්. ප්‍රත්‍යවේක්ෂා ඥාන-යෙන් කරන්නෙ ඒ අදහස වටහල දීම. අටසිල් හෝ දසසිල් සමාදන් වෙන කෙනෙක් අධිෂ්ඨාන කරපු කාලය තුළ සිල් සමාදන් වෙලා ඉන්න ඕන. අනිත් අය කරන්නෙ පංච දුශ්චරිතයෙන් වෙන්වීම. එහෙම නැත්නම් බෝධි සත්ව වත. ඒක අබ්‍රහ්ම චරියාව නෙවෙයි. මිත්‍යා-චාරයෙන් වෙන්වීම, මිච්චා ආජීවයෙන් වෙන්වීම. ආජීවය අට වැන්න කොට ගත්ත සීලය තමයි ආජීව අෂ්ඨමක සීලය කියන්නෙ. ජීවත් වීම සඳහා මිත්‍යා ආජීවයෙන් වෙන්වීම කියන එක අටවැනි සික්ඛාව කියල මුල් කරගෙන ඒ අනුවයි ඒ නම දාල තියෙන්නෙ. බෝසත්වරු පැවිදි වෙන්නෙත් ආජීව අෂ්ඨමක සීලයෙන්. එතකොට අටසිල් හෝ දසසිල් සමාදන් වන කෙනා ඒ අධිෂ්ඨාන කර ගත්ත කාලය තුළ ඒ බ්‍රහ්මචාරී ගුණයෙන් යුක්තව ඉන්න ඕන. නමුත් අවශ්‍ය නම් සමාදානය පවාරණය කරල යන්න පුළුවන්. අවශ්‍ය නම් පැයක්, වරුවක් වගේ තමන්

අධිෂ්ඨාන කරගත් කාලයක් සමාදන් වෙන්න පුළුවන්. එතකොට ඒ අධිෂ්ඨාන කරගත්තු කාලය තුල මේ කියන සිවුපසය ප්‍රත්‍යවේක්ෂාවෙන් පරිභෝග කරන්න ඕන.

පැවිදි වේවා, ගිහි වේවා ගෙදරකට ගියත් කරන සංග්‍රහයක් තියේ නම් ඒකත් ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න පුළුවන්. අඳින පළඳින, කය පවත්වන සියළු දේම ඒ විදියට ගන්න පුළුවන්. මොකද සමහරු රැවුල, කොණ්ඩෙ විවිධාකාර හැඩයන්ට කපල විවිධ විච්චූර්ණ කරල මදයට පාවිච්චි කරනවා. විවිධාකාර විලාසිතාවන්ට ගැලපෙන ඇඳුම් පැළඳුම් හොයාගෙන යනවා. ඒ හොයන්නෙත් මත් වෙන්න.

සයට නේද රස මුසු බත් කන්නේ
ගඳට නේද ඇඟ සුවඳ කරන්නේ
ලෙඩට බේති මේ මෙලොව සතුන්නේ
කුමට මීට සැපයකැයි සිතන්නේ

එතකොට මේ විදිහට ප්‍රත්‍යවේක්ෂා කරමින් ආර්ය මාර්ගයේ ගමන් කරන අයත් සුවඳ ගල්වනවා. කාම සම්භෝගයේ යෙදෙන අය කොහොමත් විවිධාකාර සුවඳ විලවුන් ගල්වනවා. එතකොට ඇයි ආර්ය මාර්ගයේ යන අය සුවඳ කරන්නෙ? ගඳට තමයි සුවඳ කරන්නෙ. ඒ කියන්නෙ තමන් ළඟ දුර්ගන්ධයක් තියේනම් ඒක අනෙක් අයට කරදරයක් නොවෙන්න. නමුත් අනෙක් අය සුවඳ කරන්නෙ සුවඳින් ඉන්න ඕන නිසා, තවත් අය වශී කරගන්න ඕන නිසා. එතකොට ලෝකයට අප්‍රිය වීම වළක්වන්න සුවඳ ගැල්වීමයි, අන් අය වශීකර ගන්න සුවඳට ඉන්න ඕන නිසා සුවඳ ගැල්වීමයි කාරණා 2ක්. මේ දෙගොල්ලොම සුවඳ පරිහරණය කරනවා. බුදුන් වහන්සේ භික්ෂූන් වහන්සේලාටත් ඉකිලිවල, කිහිලිවල ගඳ යන්න සඳුන් කුඩු පාවිච්චි කරන්න කියල අනුමැතිය දීල තියෙනවා. මොකද අනිත් අයට අප්පිරියවන නිසා ඒක වළක්වන්න. නමුත් පරමාර්ථ වශයෙන් ගත්තොත් ඌරට අසූචි ගඳ නැති වුණාට මිනිස්සුන්ට ගඳ වගේ, දුස්සීල දුර්ගන්ධය සිල්වතුන්ට ගඳයි. නාහෙට නෙවෙයි හිතට.

මේ ප්‍රත්‍යවේක්ෂාවෙදි පටිසංඛා කිච්චම සැක හැර කියන අර්ථය තමයි එන්නෙ. ඒ කියන්නෙ තමන් පිළිබඳව මැනගන්න බැඳීම සැක හැර මනා නුවණින් දකින්න ඕන. තමන් කවුද කියල දැනගන්න ඕන. චීවර පටිසංඛාය ගත්තම චී කියන්නෙ අප්‍රිය බව, වර කියන්නෙ බැඳීම. ලෝකයට බැඳීමෙන් ඉවත් වීම හෙවත් අප්‍රිය කිරීම තමයි චීවර කියන්නෙ. එහෙම නැත්නම් චී කියන පහත් දේවල් වරණ අදහසිනුත් චීවර කියල ගන්න පුළුවන්. සාසනික වචනය තමයි චීවර. ගිහි අය නම් ඇඳුම් කියල කියනවා. ඒකටත් ඒ වගේ අර්ථයක් තියෙනවා. ඇන්ද වූ උම තමයි ඇඳුම කියන්නෙ. ඇන්ද කියන්නෙ හේත්තු වෙලා ඉඳීම. උම කියන්නෙ මව්. මව්ට හේත්තු වෙලා ඉන්නව කියන්නෙ, පුංචි දරුවො උපන්නට පස්සෙ උණුසුමට මව්ට තුරුල් වෙලා ඉන්නවා. එතකොට ඇඳුමක් අඳින්නෙ සීත උෂ්ණාදිය දුරු කරගන්න. මව්ගෙ උණුසුම කියන්නෙ ස්ත්‍රියගෙ උණුසුම නෙවෙයි. ඒ කාරණා 2 ක්. මව්ගෙ උණුසුම කියන්නෙ දරුවො ප්‍රිය කරන එකක්. ඒක පුරුෂයෙක් ස්ත්‍රියකගෙන් ලබන ආකාරයේ කාම උණුසුමක් නෙවෙයි. ඇඳුම් කියන්නෙත් ඒ වගේ දෙයක්. චීවර කියන්නෙ ඇඳුමත් ඉක්මවූ අවස්ථාවක්. ඒ මට්ටම තියෙන බැඳීමෙනුත් අහක් වුනා කියන එක. චීවර, ඇඳුම කියන දෙකේ වෙනස ඒකයි. මේ 2 ම ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න පුළුවන්. එතකොට මගේ චීවරය, මගේ ඇඳුම නෙවෙයි, මම අඳින චීවරය, මම අඳින ඇඳුම කියලයි ගන්නෙ. කාම හැඩය, කාම අලංකාර දුරු වෙලා යන්න, ඒ ගති ස්වභාවය වෙනස් වෙලා යන්න, ලෝභ, දෝස, මෝහ ගති දුරු කරන්න ඒක බොහොම වැදගත්. පටිඝාතාය කියන්නෙ ඒ බැඳීම ඝාතනය කිරීම හෙවත් ඒකෙන් ඉවත්වීම.

සේනාසන කියන්නෙ වාසයට ස්ථානය. ගිහියන් වුණත් ඒක අවංකව ප්‍රත්‍යවේක්ෂා කරල පරිහරණය කළාම ගේදොර වතුපිටි ආදියට තියෙන ලෝභ, දෝස, මෝහත් අත්හැරෙන්න හේතු වෙනවා. එතකොට, මගේ ගේදොර කියන්නෙ නැතිව තමන් වාසය කරන ගේදොර කියල ගන්න ඕන. ඒ විදියට ඇඳ, පුටු, මේස, යානවාහන, වතුපිටි, මිලමුදල් සියල්ලමත් ගන්න පුළුවන්. "මගේ" කියන්නෙ නැතිව "ජීවත් වෙනකල් පරිහරණය කරන" කියන අර්ථයෙන් ගන්න ඕන. මොකද මිනිස්සු "මම, මගේ" කියල ගහමරා ගන්නෙ, රණ්ඩු වෙන්නෙ මේ දේවල්වලට. දේපල ඉඩකඩම් බෙදා ගන්න සහෝදර සහෝදරියො රණ්ඩු වෙනවා, දූ දරුවො රණ්ඩු වෙනවා, දෙමාපියන්ටත් මුරණ්ඩු වෙනවා, භේද භින්න වෙනවා. අන්තිමට ගහමරා ගන්නවා. නමුත් ඒවා මේ විදිහට අවංකවම ප්‍රත්‍යවේක්ෂා කරල ගන්නකොට ඒ නොකටයුතු සියල්ල අහක් වෙනවා. කවුරුත් මේ ජීවත් වෙලා ඉන්න ඉන්නකල් පරිහරණය කරනව මිසක් අයිති කරගන්න නෙවෙයි කියන අදහස එනවා. එතකොට ඒ දේපල ඉඩකඩම්වලට පෙර හිමිකම් කියපු ඥාති අමනුස්ස ආදී බලවේගවල බැල්මත් අඩු වෙනවා. මොකද ඒ අය කැමති නෑ ඒවාට තව කෙනෙක් මගේ කියල කියනවට. මනුස්ස ලෝකෙ ඉන්න අයත් එහෙම තමයි. යමෙක් මගේ කියල අල්ල ගන්නවට අනෙක් අය කැමති නෑ. එතකොට මේ විදියට ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න කොට එක්කෙනෙකුට එක්කෙනෙක් ලොකු මහත් වෙන්න දඟලන්නෙ නෑ. ගැටීම් අඩු වෙනවා. පවුල් අභ්‍යන්තරයේ ගැටීමත්, සමාජයේ ගැටීමත් අඩු වෙනවා. ඒ වගේ අයගෙ දේපළ හොරකම් කරන්න, විනාස කරන්න බැරි තත්වයට එනවා. ඒ ගුණයත් එක්කම ඊට අනුකූලව එහෙම රැකවරණයක් ලැබෙනවා.

ඊළඟට බේත් ගත්තම අද බොහෝ අය ලෙඩට ප්‍රත්‍යයක් වශයෙන් බේත් ගැනීම ඉක්මවල, බේත් නමින් වෙන වෙන දේවල් හදා ගන්නවා. උදාහරණ විදිහට ඇල්කොහොල් වැඩි කරල අරිෂ්ට වර්ග හදා ගන්නවා. මත්පැන් වෙනුවට අරිෂ්ට බොනවා. මේස හැඳි 2 ක් වෙනුවට 10 ක් බොනවා. විටමින් ඛනිජ ලවණ කියල විවිධ ඇබ්බැහිවන පානයන් ගන්නවා. කය හැඩවැඩ වෙන්න, පුරුෂ ශක්තිය, ස්ත්‍රී ශක්තිය වැඩෙන්න කියල නොයෙක් දේ බේත් නමින් ගන්නවා. මේ වගේ වැඩ කරනවා. නමුත් බේත කියන එක ප්‍රත්‍යවේක්ෂා කරල ගත්තම, මේ කය ජීවත් වෙන්න පුළුවන් මට්ටමට ආර්ය මාර්ගය පූර්ණ කරගන්න වැඩ කටයුතු ටික කරගන්න ලෙඩ නොවී තියෙන්න කියන අදහසින් තමයි ගන්න ඕන. එතකොට අලෝභ, අදෝස, අමෝහ වැඩෙනවට අමතරව ඒ ගන්න බේත ලෙඩට, කයට ප්‍රත්‍ය වෙලා ඒ ලෙඩ ගති පහසුවෙන් දුරු වෙන්නත් හේතු වෙනවා. ඒක තමයි පත්තියන් වෙනව කියන්නෙත්.

එතකොට යම්කිසි භික්ෂුවක් මගඵල නොලබා මේ කියන සිවුපසය ප්‍රත්‍යවේක්ෂාවෙන් තොරව පරිහරණය කළොත් ඉණ පරිභෝගයට අහුවෙලා ණයට කැව වෙනවා. ☞

ප්‍රත්‍යවේක්ෂා නොකර ගන්න අයිතිය තියෙන්නෙ සෝවාන්, සකෘදාගාමී, අනාගාමී කියන මගඵල ලබපු අයට හිමි දායාද පරිභෝගයයි, අරිහතුන් වහන්සේට හිමි ස්වාමි පරිභෝගයයි කියන අවස්ථා දෙකේදි විතරයි. බුදුන් වහන්සේගෙ දරුවන් හා සමාන නිසා දායාද පරිභෝගය හිමි වෙනවා. රහතුන් වහන්සේ හැම රාගයෙන්ම නිදහස් නිසා ස්වාමි පරිභෝගය හිමි වෙනවා. උන්වහන්සේ කොහේ වැඩ හිටියත්, මොනව වැළඳුවත් ගැටළුවක් නෑ.

ඒ කියන්නෙ ප්‍රත්‍යවේක්ෂා නොකර සිවුපසය පරිහරණය කරන්න නම් එක්කො සෝවාන්, සකෘදාගාමී, අනාගාමී වෙච්ච කෙනෙක්වත් වෙන්න ඕන. එහෙම නැත්නම් රහත් වෙන්න ඕන. මේ දෙගොල්ලන්ට විතරයි ප්‍රත්‍යවේක්ෂා නොකර පරිභෝග කරන්න අයිතිය ලැබෙන්නෙ. තවත් විදිහකට කියනවනම් මගඵල ලබපු සේක පුද්ගලයන්ටයි, අරිහත් ඵලය ලබපු අසේක පුද්ගලයන්ටයි. අනෙක් භික්ෂූන්වහන්සේලා ප්‍රත්‍යවේක්ෂා නොකර ගත්තොත් ඉණ පරිභෝගයට අහුවෙනවා. එතනදිත් ගුණයක්වත් නැතිව පරිභෝග කළොත් ඒ පුද්ගලය තවත් පහල තියෙන ථෙයිය පරිභෝගයට අහු වෙනවා. ඒ කියන්නෙ සාසනය තුළ මහණදම් පුරන්නෙ නැතිව පැවිදි වෙස් අරගෙන සිවුපස පරිභෝග කළොත්. ඒක සාසනික දේ හොරා කෑමට අහුවෙන්නෙ. භික්ෂූන් වහන්සේ නමක් ඉණ පරිභෝගයට අහු වුනොත් ඊළඟ උප්පත්තිය අලි ඇත්තු හෝ හරක් වෙලා ඉපදිලා මොනව හරි ක්‍රමයකට වන්දි ගෙවන්න හේතු වෙන්න පුළුවන්. ථෙයිය පරිභෝගය ඊටත් වඩා භයානකයි. සාසනික දේ හොරට කනවයි කියන්නෙ ගිනි කනව වගේ දෙයක්. සමහර විට තිරිසන් අපායටත් පහල තියෙන ඔසුපත් නිරය, අට මහ නිරය වගේ තැන්වල උපදින්න පුළුවන්.

හැබැයි මේ කියන ඉණ හෝ ථෙයිය පරිභෝගයට වුණත් භික්ෂූන් වහන්සේ නමක් අහුවෙන්නෙ, අච්චරා සංඝ සූත්‍ර එකසිය ගණනක පෙන්වා තියෙන එක කාරණයක් හෝ වැඩුවෙ නැත්නම් තමයි. ඒ කාරණාවලින් එකක් හෝ වඩනව නම් ඉණ පරිභෝගයට අහුවෙන්නෙ නෑ. උදාහරණ විදිහට අසුරක් ගහන මොහොතක් මෙත් සිතක් වැඩුවත් දානයට හිමිකරුවෙක් වේ, ඊට වැඩිමනත් වැඩුව නම් කවර කතාද කියල ඒ සූත්‍රවලම පෙන්වා තියෙනවා. ඒ කියන්නෙ ආර්ය මාර්ගයට අනුගත වෙච්ච කවුරුහරි හෝ මාර්ග අනුගාමිකයෙක් නොවෙන්නත් පුළුවන්. මොකද ආර්ය මාර්ගයට මූලික වශයෙන් එන කල්‍යාණ පෘතජ්ජන කියන අයත් ඉන්නවා. එහෙම කෙනෙකුට වුනත් ඒ හිමිකම තියෙනවා. එතකොට ඒ කර්මස්ථානයක් වඩන අවස්ථාවෙදි ප්‍රත්‍යවේක්ෂාව නොකළයි කියල ඉණ පරිභෝගයට අහුවෙන්නෙ නෑ. ඒ ගුණ තියේ නම්, ඒ ගුණ නිතර වඩනව නම් ප්‍රත්‍යවේක්ෂාව නොකළයි කියල ගැටළුවක් නෑ. නමුත් අර කලින් කියපු අමනුස්ස ආදී කරදරයි, අමනුස්සයො නොදන කර ගන්න පාප කර්මයි දුරු කර ගන්නත්, ආර්ය මාර්ගය පූර්ණ කරගන්නත් පහසු වෙන්න ප්‍රත්‍යවේක්ෂා



කිරීම හේතු වෙන නිසා ඒක වැදගත්. ඒ නිසා මග ඵල ලාභීන් නොවුණත්, මේ කියන කාරණාවලට යටත්ව ප්‍රත්‍යවේක්ෂා නොකර සිවුපසය පරිහරණය කරන්න පුළුවන් අවස්ථා තියෙනවා.

නමුත් අර කියපු මගඵල ලාභීන් හෝ රහතුන් වහන්සේලා වුනත් ප්‍රත්‍යවේක්ෂා කරල සිවුපසය පරිභෝග කරනවනම් වඩා හොඳයි. අමනුස්සයින් වගේ බාහිර අයගෙන් එන කරදරවලින් බේරෙන්න නම් ප්‍රත්‍යවේක්ෂාව හුගක් වටිනවා. මොකද සසරින් බේරුණා කියල පිරිනිවන්පාන කල් පංචස්කන්ධ දුකෙන් බේරිල්ලක් නෑ. ඒ නිසා ජීවත් වෙලා ඉන්නකල් අන්‍ය අයට ඇඟිලි ගහන්න පුළුවන්. මේ සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන් මේ ඉතා මෑතකදී ලබපු අත්දැකීමක් මේ විදිහට හෙළිදරව් කළා.

"පසුගිය කාල වකවානුවේ මට ගුප්ත ලෝකයේ ඉන්න අයගෙන් විවිධ බාධක හිරිහැර එල්ල වෙනකොට, ඒ ලෝකයේ මෙහෙයුම්කරු (Operator) කියල හඳුන්වාගත් කෙනෙක් මට බෙදල තියෙන දානෙ පතින් බෙදාගෙන වෙනම අරන් යනවා. දානය බෙදුවම මම වළඳන්න පෙර ඒ දානෙ පතට අත දාල කොටසක් අරගෙන යනවා. අර භෞතික දාන පත එහෙම්ම තියෙද්දි ඒ විදිහට ඕන තරම් ගන්න පුළුවන්. ඉතින් ඒකෙන් උන් නිකම්ම පවු පුරව ගත්තා. මොකද ඒක හොරකමක්, හරි භයානකයි, ඒ අයගෙ විනාසයට හේතු වෙනවා. අන්තිමට උන් ආගිය අතක් හොයාගන්න බැරිව ගියා.

මොකද මම ඔය කාල වකවානුවේ තිබ්ච්ච අසනීප ආබාධ නිසා ප්‍රත්‍යවේක්ෂා කළේ නෑ. ඒ කාලෙ පුද්ගලිකව දානය ගත්ත නිසා ඒක අවශ්‍ය නෑ කියන මගේ අදහස උඩයි එහෙම කළේ. එතකොට තමයි අර අමනුස්ස කරදර ඔය තරම් දුරදිග ගියේ. ඊට පස්සෙ තමයි නැවතත් ප්‍රත්‍යවේක්ෂා කරන අදහස ආවෙ. හැබැයි ප්‍රත්‍යවේක්ෂා කළාම ඒ ආහාරයට අමනුස්සයන්ට හිමිකමක් නැති වුණාට, මම මනෝමය වශයෙන් මවල දෙන ආහාර ඒ අයට ගන්න පුළුවන්. ඒක කෑව කියල උන්ට කිසි අගුණයක් නෑ. මොකද ඒක මගේ පුද්ගලික හැකියාවකින් කරල දෙන දෙයක්. ඕන දෙයක් උන්ගෙ ලෝකෙට ගැලපෙන විදිහට ඒ වගේ මවල දෙන්න පුළුවන්.

එතකොට ප්‍රත්‍යවේක්ෂා නොකරපු ආහාරයකට අමනුස්සයන්ට ඇඟිලි ගහන්න පුළුවන්කම ලැබෙනවා. යම් අමනුස්සයෙක් ඒකට බැල්ම දාගත්තොත් සංඥා මාත්‍රය තුළින් අමනුස්සයට ඒක පේනවා. ඒ අමනුස්සයට ඒ ආහාරයට බැල්ම දාගෙන කෑමේ බරපතලකම තේරෙන්නෙ නෑ. තමන්ගෙ කෙනෙක්ගෙ දෙයක් හැටියට හිතාගෙන භික්ෂූන් වහන්සේලාගෙ දානයක් වුණත් කිසිම ගානක් නැතුව අරගන්නවා. ඒ දවස්වල මට දානෙ බෙදල තියෙන වෙලාවට ගුප්ත ලෝකයේ පෙලක් අය පොඩි ළමයි එවල ඒ දානයෙන් කොටසක් අරගෙන යනවා. එහෙම ගෙනිහින් ඒ ලෝකෙ අයට ඉනා බන්ධන කරනවා. මට බුලත් ☞

කොළයක් තිබ්බත් ඒකත් අරගෙන යනවා. ඒ කියන්නෙ භෞතිකව තියෙන දානෙ, බුලත් කොලය උස්සගෙන යනව නෙවෙයි. ඒක එහෙම්ම තියෙද්දි ඒකට අත දම්මම ඒ අයට ගැලපෙන විදිහට ඒකෙන් කොටසක් නිර්මාණය වෙලා එනවා. ඒක තමයි ඒ අය ගෙනියන්නෙ. මගේ කොටස එහෙම්ම තියෙනවා. හැබැයි අනවසරයෙන් එහෙම අතදැමීමත් හොරකමක්.

නමුත් අපි ප්‍රත්‍යවේක්ෂා කරල අධිෂ්ඨාන කළොත් එහෙම ගන්න බෑ. ඒත් ප්‍රත්‍යවේක්ෂා කරන්නත් පෙර ඒ අය ඒක හොරකම් කරගෙන යන එක තමයි ගැටළුව. මොකද ඒ දවස්වල තිබ්බ්ච වාතාවරණය අනුව මට ප්‍රත්‍යවේක්ෂා කරන අදහසක් තිබුණෙ නෑ. නමුත් ඒ අදහස හැම තිස්සෙම හිතේ තියෙනව නම් අමනුස්සයින්ට එන්න බෑ, බය වෙනවා. එහෙම ප්‍රත්‍යවේක්ෂා කරල ගත්තම ඒ අය පවු කරගන්න එකත් වළකිනවා. ඒ වගේම ඒ අයට ළං වෙන්න බැරි නිසා අමනුස්සයින්ගෙන් අපවිත්‍ර වීමත් වැළකිලා අජීර්ණ නොවෙන්නත් හේතු වෙනවා. මොකද අපිට මස් ලේ ඇහැට නොපෙනුනාට, අමුනුස්සයො අපි කන බොන ආහාරවලට අනන්තවත් දහජරාව දාල යනවා. ප්‍රත්‍යවේක්ෂා කළාම ඒ ජාතියේ වැඩ කරන්න බෑ. උන් බය වෙනවා. මොකද එතකොට දානෙ සාසනික වන නිසා. නමුත් දන් ඉන්න හුගක් අය ඕක කරන්නෙ නෑ, ගණන් ගන්නෙ නෑ. ඒත් ඒක හරි භයානකයි, ගැළපෙන්නෙ නෑ. ඒ නිසා පන්සලක නැවතිලා ඇප උපස්ථාන කරන කෙනෙක් වුනත්, ඒ ලැබෙන සාංඝික සිවුපසයෙන් යැපෙනවනම් ප්‍රත්‍යවේක්ෂා කරල තමයි ගන්න ඕන. ඒක ඉතින් ඒ ගැන දනුම් තේරුම් තියෙන හාමුදුරුවරු ඒ අයට කියල දෙන්න ඕන. ඒක නොකියන එකත් වරදක්."

ඉතිං මේ ප්‍රත්‍යවේක්ෂාව පොදුවේ ගත්තම ගිහි අයටනම් රාත්‍රී කාලයේ මල් පහන් පූජා කරල වැඳල ඉන්න ගමන් වුණත් කරන්න පුළුවන්. අර කියන සිවුපසයටම කරන්න පුළුවන්. ඒක පැය 24 ටම වලංගුයි. භික්ෂූන් වහන්සේලා ගත්තම පාරාජිකා වෙච්ච අය ප්‍රත්‍යවේක්ෂා නොකර ගත්තොත් තමයි ථෙයිය පරිභෝගයට වැටෙන්නෙ. පාරාජිකා වෙලා උපසම්පදා විදිහට ඉන්න බෑ. හැබැයි මේ කියන ඉණ හෝ ථෙයිය පරිභෝගයට සාමාන්‍යයෙන් ගිහි අය අහුවෙන්නෙ නෑ. පැවිදි කියල සම්මත කරපු අයටයි විශේෂ. මොකද ගිහියො තමන් හරි හම්බ කරගෙන කන්නෙ. පැවිදි අය සැදැහැවතුන් දෙන දානය තමයි වළඳන්නෙ. ප්‍රත්‍යවේක්ෂාව විශේෂයෙන් භික්ෂූන් වහන්සේලා කළ යුතු දෙයක්. හැබැයි ගිහි කෙනෙක් වුණත් සාසනික දෙයක් පරිහරණය කරනවනම් අර විදිහට ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න ඕන.

උදාහරණ විදියට සාසනයට පූජා කරපු ඉඩමක් වෙන්න පුළුවන්. එතකොට ඒකෙ ආදායම කියන්නෙ ඒ පූජා කරපු පුද්ගලයා සැදැහැවෙන් දෙන දෙයකට. ඒකත් පූජා කරපු පුද්ගලයට පින් උනන උල්පතක් වගේ. ඒ ආදායම සාසනිකව ගන්න වාරයක් පාසා ඒ පුද්ගලයට පින් ලැබෙනවා. ඒ වගේම සාසනය උදෙසා ළිඳක් කපල පූජා කළත් ඒ පූජා කරපු වෙලේ පටන් හැම තිස්සෙම පූජා කර කර ඉන්න ඕන නෑ. ඒකෙන් භික්ෂූන් වහන්සේලා පැන් පහසුවෙන වාරයක් පාසා ඒ පුද්ගලයට පින් ලැබෙනවා. පින් උනන උල්පතක් වගේ. වැසිකිළියක් හදල පූජා කළත් ඒ වගේ. ඒක පාවිච්චි කරන වාරයක් පාසා ඒ පින් ලැබෙනවා.

එතකොට සාසනයට පූජා කරපු ඉඩමකින් ලැබෙන ආදායම් පරිභෝග කරනවනම් ප්‍රත්‍යවේක්ෂා කරල තමයි ගන්න ඕන. යම්කිසි වගා කරපු ඉඩම් පූජාවක් කළොත්, කවුරු හරි ගිහි කෙනෙක් යොදවල ඒකෙ එළදාව අරගෙන ඒකෙන් ලැබෙන ආදායමෙන් ඒක බලා කියාගන්න අයගෙ වැටුප් ගෙවල එන සුද්ධ ආදායමක් තියේනම් ඒක සාසනිකයි. ඒක නැවතත් අමුතුවෙන් සාසනයට පූජා කරන්න දෙයක් නෑ. කවුරු හරි කැපකරු දායක මණ්ඩලයක් මගින් ඒක නඩත්තු කරන්න ඕන. භික්ෂූන් වහන්සේට ඒ සඳහා උපදෙස් දෙන්න විතරක් පුළුවන්.

ඒ වගේ සාසනිකව ලැබෙන ආදායම වගේම අනෙක් සිවුපසයත් සාසනය හා සම්බන්ධ ගිහි අයට දෙනවනම් ඒ අය ඒක ප්‍රත්‍යවේක්ෂා කරල ගන්න ඕන. එහෙම නැතුව සාංඝික කරපු දේවල් නිකම්ම කාල බීල ගියොත් ඒ අය නිකං පවු පුරව ගන්න පුළුවන්. නමුත් සාංඝික නොකර භික්ෂූන් වහන්සේ නමකට පුද්ගලිකව ලැබෙන දෙයක් නම් ප්‍රත්‍යවේක්ෂා නොකර ගන්න පුළුවන්. මොකද භික්ෂූන් වහන්සේලාට පුද්ගලිකව ලැබෙන සිවුපසයක් තියෙනවා. ඒවත් ශ්‍රද්ධාවෙන් තමයි දෙන්නෙ. දාන මාන වුණත් දෙන්නෙ පුද්ගලිකව තමයි. සාංඝික කරන වාක්‍යය කිව්වොත් තමයි ඒක සාංඝික වෙන්නෙ. දානෙ විතරක් නෙවෙයි ඕනම දෙයක් ඒ විදිහට තමයි සාංඝික කරන්නෙ. එහෙම නොකර ගන්න දේවල් පුද්ගලික දේවල් විදිහට තමයි ගැනෙන්නෙ.

එතකොට ඒ පුද්ගලිකව ලැබෙන දාන මානවලට කැමති දෙයක් කරන්න පුළුවන්. ඒ වගේ දේවල් ඉතිං නැති බැරි අයට දයානුකම්පාවෙන් දෙන්නත් පුළුවන්. නමුත් සාංඝික කළොත් ඒක විශේෂයි. එතකොට ප්‍රත්‍යවේක්ෂා කරල තමයි පරිහරණය කරන්න ඕන. ගිහි අයට වුණත් සාසනයට සම්බන්ධ නම් භික්ෂූන් වහන්සේලා විසින් අනුපිළිවෙලින් බෙදා දෙන ක්‍රමයක් තියෙනවා. එතකොට දායාද හිමිකමක් වගේ දෙයක් ලැබෙනවා. යම්කිසි කෙනෙකුට ඒ වගේ හිමිකමක් කැප කරල පවරා දුන්නම ඒ හේතුවෙන් ඒක ලැබෙනවා. හරියට සේවයක් කළ කෙනෙකුට වැටුපක් ගෙවනව වගේ දෙයක්. ඒවා වුණත් ප්‍රත්‍යවේක්ෂා කරල ගන්නවනම් හැම අතින්ම හොඳයි. විශේෂයෙන් භික්ෂූන් වහන්සේ නමකට, තමන්ගෙ දෙමව්පියන්ට කන්න අඳින්න දෙන්න සාසනික දේ වුනත් දෙන්න පුළුවන්. ඒක කැපයි. බුද්ධ දේශනාවලත් ඒ කාරණය තියෙනවා.

ඒ නිසා ගිහි අය වුණත් ප්‍රත්‍යවේක්ෂා නොකර සාංඝික දේ පරිහරණය කරනව නම් මොනව හරි ගුණයක් වඩල තියෙන්න ඕන. එහෙම නැත්නම් නිකම් මන්ද බුද්ධික වගේ වෙන්න පුළුවන්. ඒ නිසා ඉණ / ථෙයිය කියන පරිභෝග දෙක ගත්තම මේ කාරණා නොදන හිටියොත් සාමාන්‍යයෙන් සිවුපසය පරිභෝග කරන හැම කෙනාටම කොහෙන් හරි කැරකිලා එන්න පුළුවන්. වතාවක් එක්තරා මනුස්සයෙක් පන්සලක තිබ්බ්ච තෙල් වර්ගයක් හාමුදුරුවන්ගෙ අවසරයකින් තොරව පරිහරණය කිරීමේ වරදට යක්ෂයෙක් වෙලා ඉපදුනා කියලත් දහම් කථාවක සඳහන් වෙනවා. එතනදි ඉතින් ඒ පුද්ගලයට හොර සිතකුත් තියෙන්න ඇති. නමුත් දවසකට මොහොතක් හරි මෙත් සිතක් වැඩුවනම් ඉණ / ථෙයිය පරිභෝගයට අහුවෙන්නෙ නෑ. එහෙම නැත්නම් ගිහි අය වුණත් ඒකට අහුවෙන්න ඉඩ තියෙනවා.

විශේෂයෙන් මේ කාලෙ වුනත් සමහර පන්සල්වල මන්ද බුද්ධික ළමයි නැවතිලා ඉන්නවා. සමහර විට අර වගේ හොරට කාල බීල ඉපදිච්ච අය වෙන්නත් පුළුවන්. පෙර අත්බැව්වලම නෙවෙයි, මේ අත්බවේ හොරෙන් කාපු බීපුවා වෙන්නත් පුළුවන්. මොකද අද සමහරු, නිකං අපතෙ දාන එකනෙ කියල බුද්ධ පූජාවත් කනවා, එහෙම නැත්නම් සතුන්ට දානවා. හැබැයි බුද්ධ පූජාව කියන්නෙ පුද්ගලික පූජාවක් වුණත් ඒක කෑව කියන්නෙ සිවුපස පූජාවටත් වඩා භයානක දෙයක්. ගැලපෙන්නෙම නැති දෙයක්. බුද්ධ පූජාව විදිහට ඒක අහක් කරන්නෙ නැතිව භෞතිකවාදී අදහස් අරගෙන ඒකත් කනවා. සමහර හාමුදුරුවරුත් ඕක කරනවා. නමුත් ප්‍රතිමා වහන්සේ ළඟ තිව්ව කියල ඒක සෙල්ලමක් නෙවෙයි. බුදුන් වහන්සේ උදෙසායි තියන්නෙ. මේ කාරණය ගැන මීට පෙරත් මේ සඟරාවේ විස්තර කරල තියෙන නිසා නැවත සඳහන් කිරීම අවශ්‍ය වෙන්නෙ නෑ.

ඒ නිසා මේ ප්‍රත්‍යවේක්ෂාවේ තියෙන ප්‍රධාන වැදගත්කම් තමයි, මත් නොවී ආහාර ගැනීම හේතුවෙන් ආර්ය මාර්ගය පූර්ණ කරගන්න පහසු වීමත්, අමනුස්ස උපද්‍රව දුරු කර ගැනීමත්, වරදකට අහුවෙන්න තියෙන ඉඩ ප්‍රස්ථාව දුරුකර ගැනීමත් කියන කාරණා. ඒ වගේම ලෙඩ රෝග නොඑන්නත්, ගන්න ආහාරය හොඳින් දිරවන්නත්, ගැටීම් අඩු වෙන්නත් හේතු වෙනවා. අමනුස්සයො නිකං අමාරුවේ වැටීමත් වැළකෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# දරාගත යුතු දේ ...

මවක් නොමැත පියෙක් නොමැත
යහපත් කිසිවෙකුත් නොමැත
පිනක් නොමැත පවක් නොමැත
හොඳ කළාට වැඩක් නොමැත

මෙසේ කියන යමෙක් ඉඳිත
ඒ හැම නිසි මගේ නොමැත
වැරදි දැක්ම දරා වෙසෙත
හීන දහම ඇසුරු කෙරෙත

දස අකුසල දරා ගැනෙත
සැප සොය සොය මරා ගනිත
අවසන කොහි මැරී වැටෙත
දුගති කරා ඇදී යැවෙත

දස අකුසලයෙන් වැළකෙත
යහපත් දේ දරා සිටිත
ලෝකෙට නිසි දෙයක් කරත
ඔවුන් සුවඳ කරත් දසත

දස කුසලය මුදුනෙ දරත
දුක සැප දෙක බෙදා ගනිත
මිය යන විට පිනම අදිත
සුගතියෙ දොර ඇරී තිබෙත

සුළු පිරිසක් එසේ කරත
නිවැරදි දැක්මකින් වෙසෙත
අනුනට යහපතක් කරත
මැදුම් දහම ඇසුරු කරත

හොඳ දේ උඩු අතට අදිත
නොහොඳ නිබඳ යටට අදිත
මේ දෙඅතම ලොවට බඳිත
කිසිදා කෙළවරක් නොමැත

මේ අතරින් බුදුන් වඩිත
ලෝ සත වෙත දහම් දෙසත
දෙඅතෙම නිසරුව පෙන්වත
යා යුතු මග තෝරා දෙත

එය තෝරා ගත් පින්වත
ලෝකෙ නිසරු බව වටහත
නමස්කාර දී හිමි වෙත
සදහම් මග දරා ගනිත

මේ වෙනුවෙන් කුම කළ යුත
ඉඳුරන් සංවර විය යුත
නොඅඩුව විරියෙන් පසු වෙත
සදා සැපකි නිවන් දකිත

පබැඳුම - ජගත් විදානපතිරණ

# සාසනික පැවිද්ද... 5

භික්ෂුව පරිහරණය කරන දේවල් අතර තවත් එක දෙයක් තමයි කාය බන්ධනය හෙවත් පටිය. කාය බන්ධනයෙන් කරන්නෙ අඳනය ගැලවෙනවට බැඳ තැබීම. ''අනුජානාමි භික්ඛවේ ද්වේ කාය බන්ධනානි පට්ටිකං සූකරන්තකං'' කියල කාය බන්ධන වර්ග 2 ක් අනුමත කරල තියෙනවා. ඒ එක වර්ගයක් තමයි ඇතුල කුහරය නැති විදිහට සකස් කරන පට්ටිකා කියල හඳුන්වන පටි වර්ගය.

සූකරන්තක කියන්නෙ ඇතුල කුහරය තියෙන විදිහට සකස් කරන පටි වර්ගය. '' න භික්ඛවේ අකාය බන්ධනේන ගාමො පවිසිතබ්බො'' මහණෙනි, පටිය නොබැඳ ගමට නොයා යුතුයි කියල සික පදයක් පනවල තියෙනවා. එක අවස්ථාවක භික්ෂුන් වහන්සේ නමක් පටිය නොබැඳ ගමකට වැඩල අඳන කඩය කඩා වැටිල මිනිස්සු හූ කියන්න පටන් ගත්ත නිසා ඒ කාරණය මුල් කරගෙන තමයි මේ සික පදය පනවල තියෙන්නෙ. ඒ නිසා ආරාමය තුල පටිය නොබැඳ හිටියට වරදක් නැති බව මෙයින් පේනවා.

## සේඛියා

සේඛියා විදිහට දක්වල තියෙන්නෙ භික්ෂුවගේ හික්මීම උදෙසා අනුදන වදාල විනය සික්ෂාවන්. ඒ වගේ සික්ෂා 75 ක් පමණ විනයේ සඳහන් වෙනවා. එයින් අත්‍යව-ශ්‍යයෙන්ම දනගත යුතු කරුණු විතරක් මේ ලිපියෙන් විස්තර කරල තියෙනවා. වැඩි විස්තර සාමණේර බණ දහම් පොතෙන් බලාගන්න පුළුවන්.

## දානය වැළඳීම පිළිබඳ සික පද

දානය වැළඳීම සම්බන්ධව සේඛියා පහක් සඳහන් වෙනවා.

''සක්කච්චං පිණ්ඩපාතං පටිගහෙස්සාමීති සික්ඛා කරණීයා'' දායකයන් විසින් දානය පිළිගන්වන කොට සිහියෙන් යුක්තව පිළිගන්න ඕන. ඉවත දමන්න ගන්නව වගේ, වළඳන ඒවයි නොවළඳන ඒවයි හැමදේම බෙදන්න ඉඩ දීල බලා ඉන්න සුදුසු නෑ.

'' පත්ත සඤ්ඤී පිණ්ඩපාතං පටිග්ගහෙස්සාමීති සික්ඛා කරණීයා'' පාත්‍රයට හොඳින් අවධානය යොමු කර ගෙනම දානය පිළිගන්න ඕන. වටපිට බලමින්, නොසැලකිල්ලෙන් පිළිගැනීම නොකළ යුතුයි.



''සමසූපකං පිණ්ඩපාතං පටිග්ගහෙස්සාමීති සික්ඛා කරණීයා'' බතට සෑහෙන පමණට සූප පිළිගන්න ඕන.මේ සූප කියල සඳහන් වෙන්නෙ මුං, මෑ, කඩල, පරිප්පු වගේ ඇට වර්ගවලින් පිසූ අතින් ගත හැකි සණව සකස් කළ ව්‍යඤ්ජනවලට. ඒ සූප පිළිගන්න ඕන බත්වලින් හතරෙන් කොටසක් විදිහට. අධිකව පිළිගැනීම ඇවැත් වෙන්න හේතු වෙනවා. හැබැයි ඒවා වුණත් තම්බල හොඳි විදිහට ගත්තොත් මේ කාරණය අදාල වෙන්නෙ නෑ.

සූපයන්ගෙන් අන්‍ය ව්‍යඤ්ජන කැමති ප්‍රමාණයක් පිළිගන්න පුළුවන්. නෑයන්ගෙන්, කැපකරුවන්ගෙන් අධිකව පිළිගැනීමෙන් ඇවැත් වෙන්නෙ නෑ. අනිකකු උදෙසා පිළිගැනීමත් වරදක් නෑ.

''සමතිත්තිකං පිණ්ඩපාතං පටිග්ගහෙස්සාමීති සික්ඛා කරණීයා'' පාත්‍ර ගැට්ටෙ යටි පැත්තට පමණක් ආහාර පිළිගන්න ඕන. එයින් උඩට පිළිගැනීම ඇවතක්. දානය පිළිගන්න කොට ගැටියෙන් උඩට හිටියත් තුනී කළාම ගැටියෙන් යටට තියෙනව නම් වරදක් නෑ. පාත්‍රය කොත ගහල පිරිල තිබීම තමයි ඇවැතක් වෙන්නෙ. පාත්‍රයේ තියෙන දාර තුනෙන් මේ කාරණය වෙන්කර හඳුන ගන්න පුළුවන්. මේ සික්ෂාව පනවල තියෙන්නෙ අධිෂ්ඨානයට ගැලපෙන පාත්‍ර සඳහා පමණයි. අධිෂ්ඨාන කියල කියන්නෙ ප්‍රත්‍යවේක්ෂා කිරීම වගේ දෙයක්. ඉමං පත්තං අධිට්ඨාමි කියල අධිෂ්ඨාන කරල තමයි පාත්‍රය පරිහරණයට ගන්න ඕන. එහෙම අධිෂ්ඨාන කළාට පස්සෙ ඒ පාත්‍රයේමයි දානය වළඳන්න ඕන. වෙනත් ලස්සන පාත්‍ර, හොඳ හොඳ පාත්‍ර තෝර බේර ගන්න බෑ. පාත්‍රය පිළිබඳවත් අල්පේච්-ඡතාවය තමයි ඒකෙන් බලා-පොරොත්තු වෙන්නෙ. කුඩා පාත්‍රයක හෝ අත් බඳුනක ආහාර පිළිගන්න කොට මේ සික්ෂාව බලපාන්නෙ නෑ. මොකද ඒවා දන් වළඳන පාත්‍ර වශයෙන් ගණන් ගැනෙන්නෙ නෑ.

"සක්කච්චං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා" උවමනාවක් නැති විදිහට, පීඩාවක් වගේ, නොසැලකිල්ලෙන් දානය නොවළඳා සිහියෙන් යුක්තව දානය ගැන සැලකිල්ලෙන් වැළඳීම තමයි මේ සික්ෂාවෙන් පෙන්වා තියෙන්නෙ.

"පත්ත සඤ්ඤී පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා'' අනාදරයෙන්, වටපිට බලමින් නො-වළඳා පාත්‍රයට සිත් යොමු කරගෙන දානය වළඳන්න ඕන. ''සපදානං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා'' දානය වළඳන කොට බඳුනේ තැනින් තැනින් ☞

නොවළඳා පිලිවෙලට වළඳන්න ඕන.

''සමසූපකං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා''බතට සෑහෙන ප්‍රමාණයට සූපයන් රැගෙන වළඳන්න ඕන. සූපයන් බොහෝ කොට වැළඳීම ආපත්තියක් (ඇවතක්). හැබැයි ගිලන් වෙච්ච භික්ෂූන්ට ඒ විදිහට වැළඳුවාට වරදක් නෑ. මේ සූපයන් බොහෝ කොට කියල දක්වල තියෙන්නෙ ගණනින් නෙවෙයි, බතට සෑහෙන ප්‍රමාණයට වැඩිය ගැනීම.

''න ථූපතෝ ඕමද්දිත්වා පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා ''දානය පාත්‍රයේ මුදුනෙන් අනල වැළඳීම නුසුදුසුයි. එක් කොනක සිට වැළඳීමයි සුදුසු ක්‍රමය. ඒ වගේම දානය ස්වල්පයක් ඉතිරි වුනාට පසු සියල්ල එකට අනල වැළඳීමෙන් ඇවැත් සිද්ධ වෙන්නෙ නෑ.

''න සූපං වා බ්‍යඤ්ජනං වා ඕදනේන පටිච්ඡාදෙස්සාමීති භීය්‍යෝ-කම්‍යතං උපාදායාති සික්ඛා කරණීයා'' සූප හෝ ව්‍යඤ්ජන හෝ වැඩියෙන් ලබා ගැනීම සඳහා බත්වලින් වැසීම නොකළ යුතුයි. දායකයන් බෙදන කොට වැසුනු ඒවා වැළඳුවාට වරදක් නෑ.

''න සූපං වා ඕදනං වා අගිලානෝ අත්තනෝ අත්ථාය විඤ්ඤාපෙත්වා භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා'' ගිලන්කමක් නැතිව බත් හා ව්‍යඤ්ජන ඉල්ල ගෙන වැළඳීම ගැලපෙන්නෙ නෑ. නමුත් තව කෙනෙක් උදෙසා ඉල්ල ගත්තට ඇවැත් වෙන්නෙ නෑ. දස නෑයන්ගෙන් හා කැපකරුවන්ගෙන් ඉල්ල ගෙන වැලඳුවාට වරදක් නෑ. ඒ වගේම තමන්ගෙ ධනයෙන් පිළියෙල කරපු දේවල් ඉල්ල ගෙන වැළඳීමත් ගැටළුවක් නෑ. ඒ කියන්නෙ තමන් වෙනුවෙන් යම්කිසි ධනයක් වෙන් කරල තිබුනොත්, ඔබ වහන්සේ වෙනුවෙන් මෙච්චර මුදලක් අහවල් උපාසක මහත්තය ළඟ වෙන් කරල තියෙනවා, අවශ්‍ය දෙයක් තියේ නම් ඒ උපාසක මහත්තයට කියල ඉල්ල ගන්න.... ආදී වශයෙන් කියන්න පුළුවන්. ඒක කැපයි. දාන සාලාවෙදි අහවල් ව්‍යඤ්ජනය රැගෙන එන්න ආදී වශයෙන් ගිහියන්ගෙන් ඉල්ලීම සුදුසු නෑ.

''න උජ්ඣානසඤ්ඤී පරේසං පත්තං ඕලෝකෙස්සාමීති සික්ඛා කරණීයා'' අනුන්ට අවමන් කිරීමේ අදහසින් අනුන්ගෙ පාත්‍රය දිහා නොබැලිය යුතුයි. අඩුවක් තියෙනව නම් ඒක දීමේ අදහසින් බැලුවට ඇවැත් වෙන්නෙ නෑ.

''නාති මහන්තං කබලං කරිස්සාමීති සික්ඛා කරණීයා'' දානය වළඳන කොට මහත් පිඬු වශයෙන් රැගෙන වැළඳීම සුදුසු නෑ. මේ කාරණය අටුවාවේ පෙන්වා තියෙන්නෙ, මොණර බිත්තර තරම් මහත් බත් පිඬු රුගෙන හෝ ඉතා කුඩා බත් පිඬු වශයෙන් හෝ නොවැළඳිය යුතු බව. බාහිර අය දකින කොට අප්‍රසාදය ඇති නොවෙන්නත්, භික්ෂුවගෙ ඇවතුම් පැවතුම්වල යහපත්බාවය ඇති කර ගැනීම පිණිසත් තමයි ඒ විදිහට පෙන්වා තියෙන්නෙ.

'' පරිමණ්ඩලං ආලෝපං කරිස්සාමීති සික්ඛා කරණීයා'' බත් ගුලි වශයෙන් හදල වළඳනව නම්, රවුම් ගුලි වශයෙන් හදල වළඳනව හැර දිගටි ගුලි හදල නොවැළඳිය යුතු බව මෙයින් පෙන්වා තියෙනවා. '' න අනාහටේ කබලේ මුඛද්වාරං විවරිස්සාමීති සික්ඛා කරණීයා''. බත් පිඬ මුව වෙත ගෙන යන්න පෙර මුඛය විවර කිරීම ගැලපෙන්නෙ නෑ. වළඳන කොට අත සම්පූර්ණයෙන්ම මුව තුලට යැවීමත් නොකළ යුතුයි.

ආහාර මුව තුල තියෙන කොට කතා කිරීම ඉතා අසෝභනයි. මේ සික පදයෙන් පෙන්වන වරද වෙන්නෙ, වචනය හොඳින් උච්චාරණය කරල කියන්න බැරි තරමට මුඛයේ ආහාර තියෙද්දි කතා කිරීම. කතාවට බාධාවක් නොවන විදිහට මුඛයේ ආහාර ස්වල්පයක් තියෙද්දි කතා කළාට ඇවැත් වෙන්නෙ නෑ. නමුත් දානය වළඳන කොට අත්‍යවශ්‍ය දෙයකට හැර, කතා කරමින් දන් වැළඳීම ශ්‍රමණ ආකල්පවලට ගැලපෙන්නෙ නෑ.

''න පිණ්ඩුක්ඛෙපකං භුඤ්-ජිස්සාමීති සික්ඛා කරණීයා''ආහාර මුව තුලට විසි කරමින් දන් වැළඳීමත් නොගැලපෙන බව මේ සික පදයෙන් පෙන්වා තියෙනවා. බත් පිඬු මුවින් කඩ කඩා වැළඳීමත් නුසුදුසුයි. කැවිලි පලතුරු වගේ දේවල් මුවින් කඩා වැළඳුවට වරදක් නෑ.

වඳුරන් වගේ ආහාර හක්කෙ තියාගෙන, අත ගසා දමමින් වැළඳීම, බත් ඇට විසුරුවමින් වැළඳීම නුසුදුසුයි. ඒ වගේම දිව එළියට දමා වැළඳීම,තලු ගසමින් වැළඳීම, පාත්‍රය සුරු සුරු හඬ නගමින් වැළඳීම, අත ලෙවකමින් වැළඳීම භික්ෂුවට පමණක් නෙවෙයි ගිහියන්ටත් ගැලපෙන්නෙ නෑ.

ඇඟිලිවලින් පාත්‍රය සීරීම, දිවෙන් තොල් ලෙවකෑම වගේ දේත් නොකරමින් දානය වළඳන්න ඕන. ඉඳුල් අතින් පැන් භාජනය, පාත්‍රය ඇල්ලීම නොකළ යුතු බව සේඛියාවල පෙන්වා තියෙනවා. ඒ වගේම පාත්‍රය හෝදල බත් ඇට සමග ඇතුලු ගමේ නොදැමිය යුතුයි. බත්හුලු ඉවත්කර හෝ දියකර දැමීම ගැටළුවක් නෑ. ඉඳුල් දිය දාන්න වෙනම භාජන තියේ නම් බත් ඇටත් එක්ක ඒවාට දැමීම වරදක් නැති බව පෙන්වා තියෙනවා.

මේ ආකාරයට සේඛියාවලට අනුව, බලාගෙන ඉන්න කෙනෙකුට අප්‍රසාදයක් පිළිකුලක් ඇති නොවන ආකාරයට, එකට වළඳන අනිත් භික්ෂූන්ට පිළිකුල් ඇති නොවෙන ආකාරයට සීලාචාර විදිහට දන් වළඳන්න සියළු භික්ෂුන් පුරුදු වෙන්න ඕන.

වතුර, බත්, ව්‍යඤ්ජන ආදිය ඉහිරවා දමමින් කටු, ලෙලි ආදී දේවල් තැන් තැන්වලට දමමින් දාන සාලාව අපිරිසිදු නොකර කටයුතු කරන්න ඕන. කෑරීම, සොටු සීරීම වගේ පිළිකුල් සහගත ක්‍රියා නොකර දානය වළඳන්න මතක තියා ගන්න ඕන. නොපැහැදුන අයගේ පැහැදීම පිණිසත්, පැහැදුන අයගේ වැඩි ප්‍රසාදය පිණිසත් හැම කටයුත්තකදිම පිළිපදින්න භික්ෂුව උත්සාහ ගන්න ඕන.

<u>ගමේ පිළිපැදිය යුතු සික පද</u>

විහාරයෙන් පිටත ගමේදි පිළිපැදිය යුතු සේඛියා සික්ෂා 24 ක් පමණ විනයේ දක්වා තියෙනවා. එයින් සුපටිච්චන්න සික පද දෙක සිවුරු පෙරවීම සම්බන්ධව තියෙන්නෙ. අනිත් සේඛියා 22 න් ගමේ හැසිරිය යුතු ආකාරය දක්වා තියෙනවා. ගමේ යන කොට, ගමේ ඉන්න කොට සංවරව හැසිරෙන්න පුරුදු වෙන්නඕන. අතපය විසිකරමින්, දුවමින්, පැන පැන ගමන් කිරීම් වගේ දේ නැතිව ශාන්තව ☞

ගමනේ යෙදීම කරන්න ඕන. බයිසිකල් පැදීම, මෝටර් රථ පැදීම වගේ දේත් නොකළ යුතුයි. භික්ෂූන්ට මේවා නොගැලපෙන්නෙ පාපයක් සිද්ධවෙන නිසා නෙවයි, සංවරත්වයට නොගැල-පෙන නිසාත්, ලෝකාපවාදවලින් බේරීම සඳහාත්.

'' ඔක්ඛිත්ත චක්ඛු අන්තර ඝරේ ගමිස්සාමීති සික්ඛා කරණීයා'' ගමේදි වියගහක පමණ දුර බලාගෙන, වටපිට බැලීම් ආදිය නැතිව ගමන් කරන්න ඕන. වටපිට බල බලා යනකොට සංවරත්වයට ගැලපෙන්නෙ නෑ. නොයෙක් දේ පෙනීමෙන් කෙළෙස් ඇතිවෙන්නත් හේතු වෙන්න පුළුවන්.

''න උක්ඛිත්තකාය අන්ත-රඝරේ ගමිස්සාමීති සික්ඛා කරණීයා''

පෙරවගෙන ඇති සිවුර ඔසව ගෙන යෑම (චන්ඩියෙක් වගේ) ගමේ යනකොට, හිඳිනකොට නොකළ යුතුයි. පිඬු සිඟා යන භික්ෂුව ශරීරය විවෘතව නොපෙනෙන විදිහට පාත්‍රය ගන්න ඕන. ගමේ යන කොට හයියෙන් සිනාසෙමින් කතා කරමින් යෑම ගැලපෙන්නෙ නෑ. රියන් 6 ක් දුර ඉන්න කෙනෙකුට ඇහෙන ප්‍රමාණයට කතා කළ යුතු බවත්, ඉන් එහාට ශබ්දය පැතිරෙන විදිහට කතා නොකළ යුතු බවත් සඳහන් වෙනවා. කතාවත් පුද්ගලයා හඳුන ගන්න තියෙන එක මිනුම් දණ්ඩක්. අශීලාචාරකම වැඩි තරමට ඒ අයගෙ කතාවෙ හඬත් වැඩි බව ඇතැම් අය දිහා බලනකොට පේනවා. ඒ නිසා පැවිද්දාගේ කතාව සංවරත්වයෙන් යුක්ත වෙන්න ඕන.

වෙරිකාරයෙක් වගේ ඒ මේ අත පැද්දෙමින් එක අතක් හෝ අත් දෙකම උකුලෙ තියාගෙන ගමේ යාම, හිඳීම සිදු නොකළ යුතුයි. ඒ වගේම ඔළුවේ පටන් සිවුර පෙරව ගෙන ගමන් කිරීම, විලුඹෙන් යාම වගේ දේවල් භික්ෂුවට ගැලපෙන්නෙ නෑ. මේ වගේ අසංවර ඉරියව්වලින් තොරව ගමේ යනකොට, ඉන්නකොට වගේම ආරාමය තුළ ඉන්න කොටත් සංවරව ඉන්න පුරුදු වෙන්න ඕන.

## දහම් දෙසීම පිළිබඳ සික පද

දහම් දේශනා කරන අවස්ථාවලදි පිළිපැදිය යුතු බොහෝ කාරණා තියෙනවා. ධර්ම ගරුත්වය මුල්කරගෙන ඒවා පිළපදින්න භික්ෂුව උනන්දු වෙන්න ඕන.

ගිලන්කමක් නැතිව කුඩ අතින්ගෙන ඉන්න අයට, දඬුමුගුරු අතින්ගෙන ඉන්න අයට, කඩු, දුනු, ඊ, තුවක්කු වගේ දෙවල් අතේ තියාගෙන ඉන්න අයට ධර්ම දේශනා කරන්න නොයා යුතුයි. ගිලන් බවක් නැතිව පාවහන් සහිතව ඉන්න, වාහනවල නැගගෙන ඉන්න, බිම වැතිරිලා ඉන්න, ජටා බැඳගෙන ඉන්න, හිස වසා පෙරවගෙන ඉන්න අයටත් දහම් නොදෙසිය යුතුයි.

තමන් බිම ඉඳගෙන අසුනක වාඩි වෙලා ඉන්න කෙනාටත්, තමන් මිටි ආසනයක ඉඳගෙන උස් අසුනක ඉන්න කෙනාටත් දහම් නොදෙසිය යුතුයි. දේශකයා හිටගෙන, බණඅහන අය අසුන්වල ඉන්නව නම් ඒකත් බණ නොකිය යුතු අවස්ථාවක්.

තමන් පසුපසින් ගමන් කරමින් ඉදිරියෙන් යන කෙනාටත්, දේශකයා නොමගින් (කොන් වෙලා) යමින් මාර්ගයේ යන කෙනාටත් බණ කීම නුසුදුසුයි. මේ ආකාරයට ධර්මයට නිගරු නොවන විදිහට කටයුතු කරන්න දේශකයා දක්ෂ වෙන්න ඕන. ලෝ වැඩ සඟරාවේ එන කවියකත් මේ කාරණය මේ විදිහට දැක්වෙනවා.

**බිම ඉඳ සිට කී බණ නාසන්නේ**
**විමතිව උඩ ඉඳ සිට නාසන්නේ**
**කැමතිව කීවොත් විමසාලන්නේ**
**එම වද සග මොක් සැප සාදන්නේ**

කෙනෙක් බිම ඉඳගෙන ඉන්න කොට, හිටගෙන කියන බණ අහන්න එපා. දේශකයා හිටගෙන ඉන්නවනම් සුදුසු විදියකින් අසුනක් පනවන්න ඕන. ඒක දහමට කරන ගරුත්වයක්. විමතිව උඩ ඉඳගෙන නාසන්නේ අහංකාර-කමට, මාන්නක්කාරකමට, ලොකුකමට වගේ ගති ලක්ෂණවලින් ඉන්න අයටත් බණ කියන්න සුදුසු නෑ. අර විදියට උඩ ඉඳගෙන බණ අහනකොට එහෙම ලක්ෂණ බාහිරිනුත් විද්‍යමාන වෙන්න පුළුවන්. සමහරු බණ අහන්න ඉඳගන්නත් ලැජ්ජයි, ගරු කරන්න ලැජ්ජයි. ඉඳගෙන බණ අහන්න කැමති නෑ. නිකං ආවට ගියාට අහන්න හදනවා. ඒ අහංකාර ගතිය නිසා. එහෙම අයට බණ කියන්න යෑම ගැලපෙන්නෙ නෑ. කැමතිව කීවොත් විමසාලන්නේ - කොහේ කොහොම හිටියත් තමන්ගෙ කැමැත්තෙන්ම බණ කියන්න කියල ඉල්ලා හිටියොත් එහෙම අයට බණ කිව්වට වරදක් නෑ.මොකද සමහරවිට කෙනෙක් කායික අපහසුතාවයක් නිසා හිටගෙන හෝ උස් තැනක ඉඳගෙන ඉන්න පුළුවන්. එතකොට හැම වෙලේම ගිලනුන්ටනම් ඒ කාරණය ගැටළුවක් නෑ. ඒ වගේ වෙලාවට තමන් ප්‍රකාශ කරන්න ඕන, මම මේ හේතුව උඩයි මෙහෙම ඉන්නෙ කියල. එහෙම හේතුවක් පෙන්නුවොත් ඒක සාධාරණද කියල විමසල අරගෙන බණ කියන්න ඕන.

ධර්ම දේශනාවකදි ධර්මයට නිගරු කරන අයට බණ කියන්න එපා කියන එකයි මේ කියන්නෙ. හැබැයි මේ කාරණය අවස්ථානුකූලව බලල කරන්න ඕන දෙයක්. මේ කියන ඉරියව්වකින් වුනත් බණ දහමට ගරුත්වයෙන්, අහන්න උනන්දුවක් දක්වන කෙනෙක් ඉන්නව නම්, ඒ කාරණය අවස්ථානුකූලව අඳුනගන්න පුළුවන්. එහෙම නැතිව කෙනෙක් හිටගෙන හිටිය පලියට නුසුදුසු කෙනෙක් කියල කියන්න බෑ. දේශකයාණන් වහන්සේ දක්ෂ නම් පිරිස දිහා බැලුවම පේනවා, ඒ ස්ථානයේ ධර්මයට ගැලපෙන, ගෞරව කරන අය ඉන්නවද කියල. නිගරුවෙන් ඉන්න අයත් වැටහෙන්න පටන් ගන්නවා. හැබැයි දහම් ගෞරවයෙන් ඉන්න අය හේතුවක් නැතිව නිකම්ම හිටගෙන, උඩ වාඩි වෙලා........ ආදී වශයෙන් නොගැළපෙන විදිහට ඉන්නෙත් නෑ. ඒ ඉන්න ස්ථානයේ ඉඳගෙනම ඒ වෙලාවට ගරු කරන මොනව හරි ක්‍රමයක් යොදා ගන්නවා.

## මළ මූත්‍ර කිරීම පිළිබඳ සික පද

වැසිකිළි කැසිකිළි කරන අවස්ථාවලදී පවා සේඛියා අනුව කටයුතු කරන්න පැවිද්දා උනන්දු වෙන්න ඕන. ගිලන්කමක් නැතිව හිටගෙන මළ මූත්‍ර කිරීම, කෙළ ගැසීම, සෙම සොටු දැමීම නොකළ යුතුයි. මැරිල නැති ගහකට, උඩට මතු වෙලා තියෙන මුලකට නමුත් කෙළ ගැසීම්

ආදිය කිරීම ගැලපෙන්නෙ නෑ. තණකොළ ආදිය නැති තැනක මළ මුත්‍රා කරන්න ඕන. ඒවා තණකොළ ඇති තැනකට ගලා ගෙන ගියාට වරදක් නෑ. ඒ වගේම ගහක මුලක් උඩ ඉඳගෙන බිමට මළ මුත්‍රා කිරීමත් වරදක් නෑ.

ගිලන්කමක් නැතිව පරිභෝගයට සුදුසු ජලයේ මළ මුත්‍රා කිරීම, කෙළ සොටු දැමීම ආපත්ති සිද්ධවන කරුණක්. මුහුදු ජලයට කෙළගැසීම් ආදියෙන් ඇවැත් සිද්ධ වෙන්නෙ නෑ. ජල ගැලීම් වගේ අවස්ථාවක, හැම තැනම ජලයෙන් යට වෙලා තියෙන අවස්ථාවක මළ මුත්‍රාදිය පහ කිරීමෙන් ඇවැත් සිද්ධ වෙන්නෙ නෑ. මේ ආකාරයෙන් භික්ෂුව හික්මිය යුතු සේඛියා 75 ක් පමණ තිබුණත්, මේ සඳහන් කළේ එයින් කීපයක් විතරයි. වැඩි විස්තර පොතපතින් දැනගන්න පුළුවන්.

පාත්‍රය පිළිබඳ සික පද

පාත්‍රය කියන්නෙ භික්ෂුවගෙ ප්‍රධාන පිරිකරක්. මේ පිළිබඳ සික පද රාශියක් දේශනා කරල තියෙනවා. ඒවා නොදැන සිටීමෙන් පාත්‍රය මුල් කරගෙන බොහෝ ඇවැත් සිද්ධ වෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා භික්ෂුව පාත්‍රය පිළිබඳව තියෙන විනය නීති මැනවින් දැනගන්න ඕන.

පාත්‍ර අතරින් පරිහරණයට නුසුදුසු පාත්‍රත් තියෙනවා. රත්රන්, රිදී, මැණික්, පළිඟු, ලෝකඩ, වීදුරු, සුදු ඊයම්, කළු ඊයම්, තඹ වගේ ලෝහවලින් සකස් කරපු පාත්‍ර නොදැරිය යුතුයි කියල තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ වගේම දැවයෙන් කළ පාත්‍ර, මිනී හිස් කබල්, ලබු කබල්, වලං කබල් වගේ දේත් පාත්‍ර සඳහා පරිහරණය කිරීම, පිඬු සිඟා රැගෙන යාම තහනම්. හදිසි අවස්ථාවකදි පමණක් ලබු කබල්, වලං කබල් වගේ දේවල් පාවිච්චි කළාට වරදක් නැති බව අටුවාවල පෙන්වා තියෙනවා.

'' අනුජානාමි භික්ඛවේ ද්වේ පත්තානි අයෝ පත්තං, මත්තිකා පත්තංති - මහණෙනි, යකඩ පාත්‍රය හා මැටි පාත්‍රය යන වර්ග දෙක අනුමත කරමි''. මෙයින් මැටි පාත්‍රය බුද්ධ කාලයේ බොහෝ භික්ෂූන් පරිහරණය කළ බව විනය පොත්වල සඳහන් වෙන කරුණුවලින් පැහැදිලි වෙනවා.

යකඩ පාත්‍රය මල බැඳෙන නිසා ඒක නිකම්ම පාවිච්චියට ගන්න බෑ. සිවුරුවල, පාවහන්වල පැහැය පිළිබඳ විනයේ සික්ෂා පද සඳහන් වෙලා තිබුණත්, පාත්‍රයේ පැහැය ගැන තොරතුරු පොතපතේ සඳහන් වෙන්නෙ නෑ. ගින්නෙන් පස් වරක් පුච්චාගත් යකඩ පාත්‍රයත්, ගින්නෙන් දෙවරක් පුච්චාගත් මැටි පාත්‍රයත් අධිෂ්ඨානයට සුදුසු බව විනය අටුවාවේ දක්වා තියෙනවා.

අතීතයේ පටන් පාත්‍රයේ පාට කළු පාට විදිහට තමයි සකස් කරගෙන



තියෙන්නෙ. තල තෙල්, නා තෙල් වගේ තෙල් වර්ග උනු කරල පාත්‍රයේ ගල්වල කීප වරක් රත්කර ගැනීමෙන් මළ නොබැඳෙන විදිහට සකස් කර ගන්න පුළුවන්. මේ අනුව පාත්‍රයට සුදුසු වර්ණය කළු පාට බව මෙයින් පෙනී යනවා.

වර්තමානයේ මැටි පාත්‍ර භාවිතය සම්පූර්ණයෙන්ම වගේ ඉවත් වෙලා තියෙනවා. මෙතෙක් කල් පාවිච්චි කරපු යකඩ පාත්‍රයත් භාවිතයෙන් ඈත් වෙලා තියෙනවා. ඒකට හේතුව තමයි වර්තමානයේ තායිලන්ත සුදු පාත්‍ර භාවිතයට පැමිණීම. ඒවායේ මළ නොබැඳෙන නිසා තල තෙල් ගල්වල කළු කරන්න අවශ්‍යතාවයකුත් නෑ.

පාත්‍රයේ ප්‍රමාණය පාරාජිකා පාළියේ මේ විදිහට දක්වා තියෙනවා. ''තයෝ පත්තස්ස වණ්ණා උක්කට්ඨෝ පත්තෝ මජ්ඣිමෝ පත්තෝ ඕමකෝ පත්තෝ'' පාත්‍රවල ප්‍රමාණය තුන් ආකාරයි. උත්කෘෂ්ට පාත්‍රය, මධ්‍යම පාත්‍රය, ඕමක පාත්‍රය. උත්කෘෂ්ට පාත්‍රයට වඩා විශාල පාත්‍රත්, ඕමක පාත්‍රයට වඩා කුඩා පාත්‍රත් භාජන වශයෙන් මිසක් අධිෂ්ඨාන කරල දන් වළඳන්න පාවිච්චි කරන පාත්‍ර විදිහට සැලකෙන්නෙ නෑ. භික්ෂුවගේ ප්‍රධාන පිරිකරක් වන පාත්‍රයට තරම් වෙන කිසිම පිරිකරකට මෙච්චර විනය නීති රාශියක් පනවල නෑ. චුල්ලවග්ග පාළියේ ඒ වගේ විනය නීති රාශියක් සඳහන් වෙනවා.

'' න භික්ඛවේ සඋදකෝ පත්තෝ නිදහි තබ්බෝ '' වතුර සහිතව පාත්‍රය තැන්පත් නොකළ යුතුයි. දන් වැළඳීමෙන් අනතුරුව පාත්‍රය වතුර සහිතව තැබීමෙන් මල බැඳිල පාවිච්චි කරන්න බැරි තත්වයට පත් වෙන්න පුළුවන්. ඒ වගේම වතුර සහිත පාත්‍රය ගින්නෙන් හෝ අව්වෙන් වේලීමත් සුදුසු නෑ. පාත්‍රයේ වතුර හොඳින් පිහදමල අව්වෙ තියන්න ඕන. අව්වේ හෝ ගින්නේ තියන කොටත් වැඩි වෙලාවක් අව්වේ හෝ ගින්නෙන් රත් නොකළ යුතු බවත් පෙන්වා තියෙනවා.

ගෙපිළ කෙලවර පාත්‍රය තැබීම (පෙරලෙන්න පුළුවන් නිසා), ගෙයින් පිටත පටුපිළෙහි තැබීම, ඇනයක් ගසා එහි වතුර සහිත පාත්‍රය එල්ලීම ආපත්ති සිද්ධ වෙන්න හේතු වෙනවා. පාත්‍රය නිකන් එල්ලීම තහනම් වුණත් ථවිකයට දමා එල්ලා තැබීම වරදක් නෙවෙයි.

පුටුවේ, ඇඳේ පාත්‍රය තැබීම, පාත්‍රය උකුලේ තබා ගැනීම (කලයක් උකුලෙ තියාගන්නව වගෙයි), කුඩේ එල්ලා පාත්‍රය එහි තැබීම, පාත්‍රය අතේ තියාගෙන දොර ජනෙල් වැසීම නොකළ යුතු බවත් විනයේ පෙන්වා තියෙනවා.

වළඳල ඉතිරි වෙච්ච

කොටස්, මස් මාළුවල කටු, ගෙඩිවල ඇට ආදී දේවල් පාත්‍රයට දමල ඉඳුල් වතුර සහිතව බැහැර කරන්න ගෙන යාමත් තහනම්. පාත්‍රයට අත සේදීම, අත හෝදපු ඉඳුල් වතුර පාත්‍රයේ දමා ඉවත් කරන්න ගෙන යාමත් ඇවැත් සිද්ධ වෙන්න හේතු වෙනවා.

පාත්‍රය සම්බන්ධව මේ වගේ බොහෝ විනය නීති පැනවීමෙන් බලාපොරොත්තු වෙන්නෙ පාත්‍රයේ සුරක්ෂිත බව. ඒ කියන්නෙ අද වගේ නෙවෙයි, ඒ කාලෙ පාත්‍ර බොහොම හිඟයි. මොකද පාත්‍රය කියන්නෙ මිනිස්සුන්ට හරිහම්බ කර ගන්න හදන එකක් නෙවෙයි. කවදහරි කවුරුහරි භික්ෂූන් වහන්සේලාටමයි ඒවා හදන්නෙ. ඒ කාලෙ අද වගේ පාත්‍ර හදල දෙන්න අය හිටියෙ නෑ. බොහෝ භික්ෂූන් වහන්සේලා මොනවහරි තිබිච්ච දේකින් හදාගත්තු ඒවා තමයි තිබුණෙ. බුද්ධ කාලයේ මැටි පාත්‍ර බහුලව පාවිච්චි කරපු නිසා යකඩ පාත්‍රයට වඩා ඒක කැඩිල බිඳිල යන්න තිබිච්ච අවකාශය වැඩියි. ඒ නිසා පාත්‍රය සම්බන්ධයෙන් බොහෝ විනය නීති පනවල තියෙනවා. ''දසාහපරමං අතිරේක පත්තෝ ධාරේතබ්බෝ තං අතික්කාමයතෝ නිස්සග්ගියං පාචිත්තියං'' තමන් පාවිච්චි කරන පාත්‍රයට අමතරව තවත් පාත්‍රයක් ලැබුනොත් ඒක තමන් සන්තකයේ තියාගන්න පුළුවන් දින 10 ක් විතරයි. ඊට වඩා තියා ගත්තොත් ඇවැත් සිද්ධ වෙනවා.

<u>කුඩ දැරීම</u>

භික්ෂූන්ට කුඩ දැරීම සම්බන්ධව චුල්ලවග්ග පාළියේ මේ විදිහට සඳහන් වෙනවා. ''න භික්ඛවේ ඡත්තං ධාරේතබ්බං යෝ ධාරෙය්‍ය ආපත්ති දුක්කටස්ස'' මුලින්ම කුඩ දැරීම තහනම් කරල තිබුණා. නමුත් භික්ෂූන් වහන්සේලා වර්ෂාවෙන් තෙමීම නිසා, අව්වේ ගමන් කිරීම නිසා අසනීප තත්වයන් ඇති වුනා. ඒ නිමිති කරගෙන ''අනුජානාමි භික්ඛවේ ගිලානස්ස ඡත්තං'' - ගිලන්බව ඇතිවන අයට කුඩ පාවිච්චි කරන්න අනුමත කළා. ඒ වගේම ගිලන් කමක් නැති වුණත් ආරාම සීමාවේ කුඩ පාවිච්චියෙන් ඇවැත් සිද්ධ නොවන බව පෙන්වා තියෙනවා.

සමන්තපාසාදිකා නම් විනය අටුවාවේ, යම් කෙනෙක්ගෙ කයේ දැවිල්ලක්, පිත් කෝප වීමක්, ඇස් දුබල වීමක් හෝ වෙන කිසියම් ආබාධයක් කුඩ පරිහරණය නොකිරීම නිසා ඇතිවෙනව නම්, ඒ වගේ අයට ගමේ ආරණ්‍යයේ කුඩ පාවිච්චි කරන්න පුළුවන් බව සඳහන් වෙනවා.

වැස්සෙන් සිවුරු ආරක්ෂා වෙන්නත්, නපුරු සතුන්ගෙන් සොරුන්ගෙන් කරදර වන අවස්ථාවක ආත්මාරක්ෂාව සඳහාත් කුඩයක් භාවිතා කරන්න පුළුවන්. පාවිච්චි කළ යුතු කුඩ මේවයි නොකළ යුතු ඒවා මේවයි කියල විශේෂ කරල විනය අටුවාවල දක්වා නෑ. පාළිමුක්තක විනය විනිශ්චය කියන ග්‍රන්ථයේ, නොයෙක් පාට නූල්වලින්මැහුම් ගොතපු, මිටේ



කැටයම් යොදපු කුඩ පරිහරණය නොකළ යුතු බව දක්වා තියෙනවා. ඒ වගේම '' පන්නච්ඡත්තං, සේසච්ඡත්තං කියල සුදු කුඩ හා ලෝහ වර්ග මිශ්‍ර නොකර සකස් කරපු කුඩ සුදුසු බව සමහර ග්‍රන්ථවල දක්වා තියෙනවා.

<u>පාවහන් දැරීම</u>

පාවහන් දැරීම සම්බන්ධයෙන් චුල්ලවග්ග පාළියේ මේ විදිහට සඳහන් වෙනවා. ''අනුජානාමි භික්ඛවේ ඒක පලාසිකං උපාහනං - මහණෙනි තනි පටියක් ඇති පාවහන් දැමීමට අනුමත කරමි.'' ''න භික්ඛවේ දිගුණා උපාහනා, තිගුණා උපාහනා, ගණංගනූපාහනා ධාරේ තබ්බා'' පටි දෙක, පටි තුන, බොහෝ පටි ඇති පාවන් නොදැරිය යුතු බව මේ විනය නීතියෙන් පෙන්වා තියෙනවා.

''න භික්ඛවේ සඋපාහනේන ගාමෝ පවිසිතබ්බෝ'' පාවහන් සහිතව ගමට නොයා යුතු බවත්, යමෙක්ගෙ පාද පාවහන් නැතිව ගමන් කරන කොට රිදෙයි නම්, පාද පැලිල යටි පතුල්වල මස් දළු ලියලා තියේ නම් ඒ වගේ ගිලන් අවස්ථාවලදී පාවහන් දැමීමෙන් ඇවැත් සිද්ධ නොවන බව විනයේ සඳහන් වෙනවා.

''අනුජානාමි භික්ඛවේ අජ්ඣාරාමේ උපාහනා ධාරේතුං'' ගිලන් කමක් නැති වුණත් ආරාම සීමාව තුල පාවහන් දාන්න පුළුවන් බව මෙයින් පෙන්වා තියෙනවා. ''අනුජානාමිභික්ඛවේ ගිලානේන භික්ඛුණා ස උපාහනේන ගාමං පවිසතුං'' ගිලන් භික්ෂුව පාවහන් සහිතව ගමට වැඩීම වරදක් නොවන බව මේ සික පදයෙන් පෙන්වා තියෙනවා. ඒ වගේම සැතපෙන්න ඇඳට යන කොට, පුටුවකට නගින අවස්ථාවක පාවහන් දාන්න අනුමත කරල තියෙනවා. ඇඳ, පුටු ආදිය පිරිසිදුව තබා ගැනීමේ අදහසින් පා සෝදා පාවහන් දැමීමක් බලාපොරොත්තු වෙන්න ඇති බව මෙයින් හිතාගන්න පුළුවන්.

තමන්ගෙ ආචාර්යන් හා ආචාර්යන් සමාන අය, උපාද්‍යායන් හා උපාදධ්‍යායන් සමාන වැඩිහිටි භික්ෂූන් වහන්සේලා පාවහන් නැතිව සක්මන් කරන කොට, තමන් පාවහන් දාගෙන සක්මන් කිරීමෙන් ආපත්ති සිද්ධ වෙනවා. මේ නීතිය බලපාන්නෙ එක සක්මනක හෝ ආසන්න සක්මනක සක්මන් භාවනාවේ යෙදෙන අවස්ථාවක විතරයි.

'' අනුජානාමි භික්ඛවේ සබ්බ පච්චන්ති මේසු ජනපදේසු ගණං ගනූපාහනං'' ඇතැම් සික්ෂා පද මධ්‍ය දේශයට හා ප්‍රත්‍යන්ත ජනපදවලට (පිටිසර දුෂ්කර ප්‍රදේශ) බලපාන ආකාරය වෙනස්. මුලින් තනි පටක් සහිත පාවහන් හැර ඊට වඩා පටි තියෙන පාවහන් නොදැරිය යුතු බව වදාලේ මධ්‍ය දේශයට බලපාන ආකාරයට. මේ සික්ෂාවත් ප්‍රත්‍යන්ත ජනපදවලදී වෙනස් කරල, බොහෝ පටි තියෙන පාවහන් වුනත් දරන්න ☞

අනුමැතිය දීල තියෙනවා.

මධ්‍ය දේශය හා ප්‍රත්‍යන්ත දේශය වෙන් කරල තියෙන්නෙ මේ විදියට. නැගෙනහිරින් කජංගල නම් නියම් ගමත්, ගිණිකොනින් සල්ලවතී නම් ගංගාවත්, දකුණු පැත්තෙන් සේතකණ්ණිකා නම් නියම් ගමත්, බස්නාහිරින් ථූන නම් බ්‍රාහ්මණ ගමත්, උතුරෙන් උසීරද්දජ නම් පර්වතයත් ඇතුළු කොට මධ්‍ය දේශය ලෙසත්, ඉන් පිටත ප්‍රත්‍යන්ත ජනපද ලෙසත් සීමාවන් වෙන් කරල තියෙනවා. මේ අනුව මධ්‍ය දේශය කියන්නෙ ඉතා කුඩා ප්‍රදේශයක් බවත් පැහැදිලි වෙනවා.

සම්පූර්ණයෙන් නිල් පාට, පත්තෑයන්ගෙ ඇඟේ පාට, තනිකර කහ පාට, තනිකර රතු පාට, මදටිය පාට, තනිකර කළු පාට, ඉදුනු කොළවල පාට තියෙන පාවහන් නොදැරිය යුතු බව මහාවග්ගයේ පෙන්වා තියෙනවා.'' න භික්ඛවේ නීල වට්ටිකා උපාහනා ධාරේ තබ්බා''ඒ වගේ වර්ණ තියෙන සෙරෙප්පු පවා නොදැරිය යුතු බව පෙන්වා තියෙනවා.

විලුඹ වැහෙන විදිහට, පාදය වැහෙන විදිහට, පිටුපතුල් වැහෙන විදිහට පාවහන් දැරීමත් නොකළ යුතුයි. ඒ වගේම පුළුන් පුරවපු, වටු පියාපත් පාට තියෙන, බැටලු අං වගේ පටි තියෙන, එළු අං වගේ පටි තියෙන, ගෝනුස්සන්ගෙ නටු වගේ පටි තියෙන, මොණර පිල්වලින් මැහුම් දමූ පාවහන් නොදැරිය යුතු බව මහාවග්ග පාළියේ දක්වා තියෙනවා. මේ දක්වා තියෙන පාවහන් අද කාලෙ නැති නිසා ඒවායේ ස්වභාවය තේරුම් ගන්න තරමක් අපහසුයි. කලින් කල හැමදේම වෙනස්වෙන නිසා විනයට අනුලෝම වන ආකාරයට පාවහන් තෝරගෙන පාවිච්චි කිරීමයි අද කළ යුත්තෙ. සිංහ, ව්‍යාඝ්‍ර, කොටි, අජින කියන මෘගයා, ඔටු, බලල්, ලේන්, බකමූණු වගේ සතුන්ගෙ හම් භාවිතා කරල සකස් කරපු පාවහන් පාවිච්චියත් විනයේ තහනම් කරල තියෙනවා.

'' නච භික්ඛවේ කිඤ්චි චම්මං ධාරේතබ්බං'' කිසිම සතෙක්ගෙ හම් පාවිච්චි කරන්න භික්ෂුන්ට තහනම්. ඒක සත්ව කරුණාව මුල් කරගෙන පනවපු එකක්. අනුජානාමි භික්ඛවේ ගිහිවිකටං අභිනිසීදිතුං නත්වේව අභිනිපජ්ජිතුං" ගිහි පිංවතුන් වාඩිවන ආසනයකට හමක් දැම්මොත් ඒකෙ වාඩි වීමෙන් ඇවැත් වෙන්නෙ නෑ. ගිහියන් නමුත් නිදා ගැනීමට හමක් එලුවොත් ඒකෙ නිදා නොගත යුතු බවත් පෙන්වා තියෙනවා.

''අනුජානාමි භික්ඛවේ සබ්බ පච්චන්තිමේසු ජනපදේසු චම්මානි අත්ථරණානි, එලක චම්මං, අජ චම්මං, මිග චම්මං'' මධ්‍ය දේශයේ කිසිම හම් වර්ගයක් පාවිච්චි නොකළ යුතු බව වදාරල තිබුනත් ඒ නීතිය ප්‍රත්‍යන්ත ජනපදවලට ලිහිල් කරල තියෙනවා. ප්‍රත්‍යන්ත ජනපදවලට එළු හම්, කුරුළු හම්, මුව හම්වලින් කරපු ඇතිරිලි පාවිච්චි කරන්න පුලුවන්. මිනිස් හම් හැර අනිකුත් සියලු හම් වර්ග පාවහන්වලට, පාත්‍ර ථවිකවලට ප්‍රත්‍යන්ත ජනපදවලදි භාවිතා කරන්න පුළුවන්.

එතකොට, ලෙඩක් අසනීපයක් හෝ ශාරීරික අපහසුතාවයක් නැතිව කෙනෙක් පාවහන් පළඳිනව නම්, ඒ පළඳින්නෙ විලාසිතාවට. සමහරු පාවහන් දාගෙන ගමේ තොටේ නිකං විනෝදාස්වාදයට ඇවිදින්න යනවා. නමුත් ඇත්තටම අත්‍යවශ්‍ය කටයුත්තකට පාවහන් පලඳින කෙනෙක් දන්නවා, මම මේ මොකටද පාවහන් පළඳින්නෙ කියල. බොරලු, ගල්, වැලි ඇනෙන නිසා, පාරෙ මඩවෙලා තියෙන නිසා යන්න බැරිකමට... මේ වගේ මොකටද පාවහන් පළඳින්නෙ කියල තමන්ගෙ හිත දන්නවා. ඉතින් ලස්සනට හැඩ වැඩ දාල හදපු සෙරෙප්පු සපත්තු කියන්නෙ අත්‍යවශ්‍යතාවයට හදපු ඒවා නෙවෙයි. ඒවා පළඳින්නෙ විලාසිතාවට. ප්‍රයෝජනය සඳහා පරිහරණය කරනව නම් හැඩ වැඩ දාපු ඒවා අවශ්‍ය නෑ.

<u>කෙස් රැවුල් පිළිබඳ සික පද</u>

කෙස් රැවුල් බෑම භික්ෂු ආකල්පයක්. ගිහියන්ට වගේ කෙස් රැවුල් දික් කිරීම, නොයෙක් රටාවලට කැපීම භික්ෂුවගේ ශ්‍රමණ ආකල්පවලට ගැලපෙන්නෙ නෑ. චුල්ලවග්ග පාළියේ ''න භික්ඛවේ දීඝා කේසා ධාරේතබ්බා'' - දිග කෙස් නොදැරිය යුතු බව දේශනා කරල තියෙනවා. ''අනුජානාමි භික්ඛවේ ද්වංගුලංවා දුමාසිකංවා'' අඟල් දෙකක් හෝ මාස දෙකක් දක්වා කෙස් රැවුල් තියාගන්න පුලුවන් බව විනයේ දක්වා තිබුනත්, වර්තමානයට ඒ කාරණය කොච්චර දුරට ගැලපෙනවද කියල විමසල බලන්න ඕන. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් මාස 2ක් යනකොට කෙස් ගහක් අඟල් 2 ක් විතර වැඩෙනවා. අන්න ඒ ප්‍රමාණයට එනකල් වවන්න පුළුවන්. හැබැයි නිකම්ම නෙවෙයි, මොනව හරි සාධාරණ හේතුවක් උඩ. මොකද සමහර අයගෙ හොරි, කුරුලෑ වගේ ඇවිත් තිබුනොත් රැවුල, කොණ්ඩෙ කපන්න බැරි වෙන්න පුළුවන්. එහෙම අයට අර මට්ටමට වවාගෙන වැඩිහරිය අඩු කරගන්න පුළුවන්. ඒ වගේම කොස්සකින් හිස පීරීම, පනාවෙන් හිස පීරීම, අතින් හිස කෙස් පීරීම, ඉටිමල් තෙල් ගා හිස පීරීම, ලාටු වර්ගවලින් හිස පීරීම වගේ දේවල් භික්ෂුව නොකළ යුතුයි.

''න භික්ඛවේ කත්තරියා කේසා ඡේදාපෙතබ්බා'' කතුරෙන් හිස කෙස් නොකැපිය යුතුයි. මොකද කතුරෙන් කපන කොට හැඩතල එක්ක කපන්න පෙලඹෙනවා. එහෙම නැතිව කතුරෙන් වැඩ ගන්න එපා කියන එක නෙවෙයි මේ කියන්නෙ. ආබාධයක් තියෙන අවස්ථාවලදි කතුරෙන් හිස කෙස් කැපුවට වරදක් නෑ.

රැවුල අලංකාර විදියට කැපීම, කම්මුල් දෙකේ දිගට ඉතිරිකර කැපීම, හතර කොනක් තබා කැපීම, පපුවේ, උදරයේ, සම්බාධක ස්ථානවල ලොම් කැපීම, උඩු රැවුල තියල කැපීම තහනම් බව චුල්ලවග්ග පාළියේ දක්වා තියෙනවා.

''අනුජානාමි භික්ඛවේ ආබාධප්පච්චයා සම්බාධේ ලෝමං සංහරාපේතුං'' ආබාධ තියෙන අවස්ථාවල සම්බාධ ස්ථානවල (රහස් ප්‍රදේශවල) ලොම් ඉවත් කරන්න පුලුවන් බව මේ විනය නීතියෙන් පෙන්වා තියෙනවා.

ඒ වගේම සම පැහැපත් කරන දේවල් මුහුණේ ගෑම, වත්සුනු ගෑම, සුවඳ විලවුන් වර්ග ගෑම, මුහුණේ තිලක තැබීම, කය සායම් කිරීම, පච්ච කෙටීම, මුහුණ සායම් කිරීම වගේ දේවල් භික්ෂුවට ගැලපෙන්නෙ නෑ.

# උදෑසන ඇතිවන විලුඹේ වේදනාව සමනයට ප්‍රත්‍යක්ෂ ඔසුවක්

නාමින් ප්‍රසිද්ධ නොවුනත්, උදේ පාන්දර නැගිටින කොට විලුඹේ ඇතිවන දැඩි වේදනාව සමාජයේ බොහෝ දෙනෙක් අතර දකින්න තියෙන රෝගීතාවයක්. හරියට හඳුනා නොගත්තත්, සමහරවිට මේ තත්ත්වය වෙනත් රෝගයක මුල් අවස්ථාවක් වෙන්නත් පුළුවන්. අන්න ඒ වගේ අවස්ථාවකදි පාවිච්චි කරන්න පුළුවන්, දැනටමත් අත්හදා බලපු ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. මේ ඖෂධයත් වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බේත් සමාධියෙන් මතුකරගත් ඖෂධයක්.



මේ සඳහා අවශ්‍ය වෙන්නෙ හීන් උඳුපියලිය මිටක්, පුවක් ගෙඩියක් තරම් විසාල තිරිවානා ගල් කැටයක්, ලුණු වතුර ටිකක් සහ සිදුර ලොකුවට කපාගත් පොල් කටුවක් විතරයි. ඉස්සෙල්ලම හීන් උඳුපියලිය මිට හොඳින් තලාගන්න ඕන. ඊළඟට තිරිවාන ගල් කැටය ලිපට හෝ ගිනි ගොඩකට දාල ගිනියම් වෙනකල් රත්කර ගන්න ඕන. ඒක අරගෙන සිමෙන්ති පොලවක හෝ උදලු තලයක් වගේ යකඩ තහඩුවක් උඩට දාල, ඒ තිරිවාන ගල උඩට තලාගත් උඳුපියලිය මිට දාල, අර සිදුර ලොකුවට කපාගත් පොල් කටුවෙන් වහන්න ඕන. ඒ සැනින්ම ඒ සිදුර තුලින් ලුණු වතුර වත්කරනවා. එතකොට සිදුර තුලින් එන වාෂ්පයට විලුඹ අල්ලන්න ඕන. මේ විදියට රෑ නිදාගන්න පෙර මේ ප්‍රතිකාරය කරල, ඒ උඳුපියලිය මිට අරගෙන විලුඹ වටේට බැඳල උදේට ලිහල දාන්න ඕන. ලිහල දාල පැයක් විතර ඉඳල නැවතත් අලුත් උඳුපියලිය මිටක් තලාගෙන අර විදියටම කරන්න ඕන. හැබැයි උදේ කරන ප්‍රතිකාරයෙදි උඳුපියලිය මිට විලුඹ වටේ ඔතන්න අවශ්‍ය නෑ. රෑට විතරයි ඒ විදිහට කරන්නෙ. මේ විදිහට එක දිගට දින 5 ක් හෝ අවශ්‍ය වාරයක් කළාම මේ කියන රෝගී තත්වය දුරු වෙලා යනවා.

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

''අනුජානාමි භික්ඛවේ ආබාධප්පච්චයා මුඛං ආලම්පිතුං '' ආබාධ තියෙන අවස්ථාවලදි මුහුණේ බෙහෙත් ගැල්වීම් වගේ දේවල් කළාට වරදක් නෑ. දිග නිය දැරීම, දික් වූ නාස් ලෝම දැරීම විනයානුකූල නෑ. කෙස්, ලොම් ආදිය පැහෙන කොට වයස පෙනෙයි කියල ගලවා දැමීම, වර්ණකවලින් කළු කිරීම නොකළ යුතුයි. කණ්නාඩියකින් හෝ දිය බඳුනකින් මුහුණ බැලීමත් නොකළ යුතුයි. නමුත් ආබාධයක් වගේ අවස්ථාවල ඒ විදියට බැලුවට ඇවැත් සිද්ධ වෙන්න නෑ.

ආබාධයක් තියෙන කොට ඒක සුව වෙලාද, නැත්ද කියල දැනගන්න, බෙහෙත් ගැල්වීම් ආදියට, කෙස් රැවුල් බෑමට වගේ දේවල් සඳහා කණ්නාඩියෙන් මුහුණ බැලීම වරදක් නෑ. ලස්සන හැඩ වැඩ ආදිය පිණිස බැලීමයි නුසුදුසු වෙන්නෙ.

ඉතින් අවසාන වශයෙන් මේ සියලු කාරණා ගත්තම, මේ කියන කුඩා සික පද හරියට දහම් මාර්ගයේ ගමන් කරන, දහම් අවබෝධය තියෙන භික්ෂූන් වහන්සේ නමකගෙන් නිරායාසයෙන්ම රැකෙනවා. යථාර්ථය දැකපු කෙනාට ඒකට අමුතු උත්සාහයක් වීර්යක් ගන්න ඕන නෑ. අමුතුවෙන් හොයන්න හිතන්න දෙයක් නෑ. අවස්ථානුකූලව නිවන් මග පූර්ණ කරගන්න, අවශ්‍ය විදිහට ඒවා පිළිපදින හැටි උන්වහන්සේලාට වැටහෙනවා. නමුත් ඉතිං මාර්ගය පිළිනොපදින අයට තමයි මේවා මහ බැරෑරුම් කටයුතු විදිහට පේන්නෙ. මොකද ඒ වගේ අය තමන්ට ආස්වාදයක් විඳින්න කොහෙන් හරි රිංගන්නමයි බලන්නෙ. පුංචි දෙයකුත් මහ අමාරු දෙයක් හැටියට තමයි ගණන් ගන්නෙ. නමුත් දහම අහල නිවිච්ච කෙනාට ඔය එකක්වත් ගැටළු නෙවෙයි. ලෝකයේ තියෙන අනිච්ච, දුක්ඛ, අසාරබව දැක්කම මේ සික පද කියන දේවල් මහා අමුතු දේවල් නෙවෙයි.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

# ශරීරයේ අධික කෘෂ බව දුරු වී පෘෂ්ඨිමත් වීමට ප්‍රත්‍යක්ෂ ඔසුවක්

අධික කෘෂ බාවය කියන රෝගී තත්වයත් සමාජයේ යම් පමණකට දකින්න ලැබෙන දෙයක්. පෝෂණ ඌණතාවයක් හෝ ශරීරය අභ්‍යන්තරයේ ඇතිවන වෙනත් ඌනතාවයක් නිසා මේ වගේ තත්ත්වයක් ඇති වෙන්න පුළුවන්. ඒ කියන්නෙ චුතිපටිසන්ධියෙදි කර්ම ශක්තියෙන්ම හටගත් කෘෂ බව නෙවෙයි. ඒ විදියට කර්මජව හටගත් කෘෂ ශරීර ඖෂධ මගින් පෘෂ්ඨිමත් කරන්න බෑ. ඒ නිසා මේ කියන්නෙ වෙනත් බාහිර හේතුවක් නිසා හටගත් ශරීර කෘෂ බාවය ගැන.

ඉතින් මේ වගේ තත්ත්වයක් වේදනා විඳින්න හෝ තමන්ගෙ සාමාන්‍ය වැඩ කටයුතු කරගන්න බැරි තරම් රෝගීතාවයක් නොවුනත්, අතපය හොල්ලල කරන බර වැඩවලට වගේම මානසිකවත් ඒ කාරණය බලපාන්න පුළුවන්. මොකද ශරීරය නියම ප්‍රමාණයෙන් පෘෂ්ඨිමත්ව තිබුණොත් තමයි බාහිරින් එන බාධකවලට ඔරොත්තු දීල, වෙහෙස මහන්සි වෙලා වැඩක් පලක් වුණත් කරන්න පුළුවන්කම ලැබෙන්නෙ. ඒ නිසා මේ ඖෂධය හොඳ මහත, ලස්සන ශරීරයක් ලබාගෙන සමාජයට පේන්න නිකං විනෝදාස්වාදය පිණිස හඳුන්වාදෙන එකක් නෙවෙයි. එක්තරා අසාමාන්‍යතාවයක් නිසා විඳින්න සිද්ධවෙන පීඩාකාරී බවින් මිදෙන්නයි මේ ඖෂධය හඳුන්වා දෙන්නෙ. වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බේත් සමාධියෙන් මතු කරගත් ඒ ඖෂධය හදාගන්නා ආකාරය තමයි මේ.




මේ සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය වෙන්නෙ ඉඟිනි ඇට කුඩු කිලෝ ග්‍රෑම් 1 යි, කුඩු කරගත් සුදු සූකිරි කිලෝ ග්‍රෑම් 1 යි, වියලි මිදි කිලෝ ග්‍රෑම් 1 යි, වියලි නෙල්ලි කුඩු කිලෝ ග්‍රෑම් 1 යි, ඇට ඉවත්කරගත් රටඉඳි කිලෝ ග්‍රෑම් 1 යි, එළගිතෙල් බෝතල් 2 යි. නෙල්ලි කුඩු ගන්නකොට, නෙල්ලි ගෙඩි වේලල අරගෙන ඇට පිටින්ම කුඩු කරගන්න ඕන. හැබැයි මේ කිව්වෙ අනුපාතයක්. ඒ නිසා මේ අනුපාතය එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්න පුළුවන්.

දැන් මේ අමුද්‍රව්‍ය ටික එකට මිශ්‍ර කරල හොඳින් අඹරගෙන සෙල්සියස් අංශක 75-80 විතර උෂ්ණත්වයක කල්කයක් බවට පත්වෙනකල් ලිපේ තියල රත්කරගන්න ඕන. ඒ කියන්නෙ මේ අමුද්‍රව්‍ය ටික ඔක්කොම මිශ්‍ර කරල එළගිතෙල් දාගත්තට පස්සෙ හුඟක් උකු මිශ්‍රණයක් එන්නෙ. ඒක ලිපේ තියල රත් කරල කල්ක මට්ටමට එනකොට බාගන්න ඕන. මේ ඖෂධයෙන් උදේ හිස් බඩට සහ රාත්‍රී නින්දට පෙර තේ හැඳි 1 බැගින් මාස 3-6 ක් අතර කාලයක් පාවිච්චි කරන්න ඕන. ඒ කාලයෙන් පස්සෙ සතියකට දින 1 ක් පමණ ඒ මාත්‍රාවෙන්ම කෘෂ බව දුරුවෙනකල් අවුරුද්දක් හෝ වැඩිකලක් පාවිච්චි කළාම ප්‍රමාණවත්.

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 53 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ රජිතා විදුරංසි ජයසේකර මහත්මිය - කැළණිය ♦ එස්. එම් ජයසේකර මහතා - මාලබේ ♦ කමින්ද රාජපක්ෂ මහතා - රාජගිරිය ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ ඩබ්.ඒ තිලිණවතී මහත්මිය - කඩවත ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ♦ කැළුම් ලංකේශ්වර මහතා - ගාල්ල ♦ අනිල් කාරියවසම් මහතා - හෝමගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය – පිටකෝට්ටේ ♦ පර්ෆෙක්ට් ඩිසයින් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින්' දායක

**මූල්‍යමය දායකත්වය** -

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ ජනක රුවන් මහතා - ගරාඬුව, මාතර - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ අමාවක පොහෝය දින උපාසක දානයට සම්බන්ධ වූ පින්වතුන් - 5100/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා- මගලෙගොඩ - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ ඉන්ද්‍රදේව මෙන්ඩිස් මහතා - මොරටුව - රු.5,000/- ♦ අමිල සුගතපාල මහතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 5,000/- ♦ කේ. කේ. සරත් හේමචන්ද්‍ර මහතා ඇතුළු පවුලේ සැම - මහඉඳුරුව - රු. 5,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.4,500/- ♦ කේ. රත්නා චාන්දනී මහත්මිය - ඉතාලිය - රු.4,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.4,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු.3,000/- ♦ සංජය එදිරිසිංහ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම - රු.2,100/- ♦ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු.2,000/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000 ♦ නන්දා හෙට්ටි ආරච්චි මහත්මිය - කළුතර - රු.2,000/- ♦ උදාරා ප්‍රියදර්ශනී මෙනවිය - බොරලැස්ගමුව - රු.2,000/- ♦ ඩී.ඒ රේණුකා කුමාරි ප්‍රියදර්ශනී මහත්මිය සහ එම්. තිලකරත්න බණ්ඩාර මහතා - පඬුවස්නුවර - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ ප්‍රියන්ති රණසිංහ මහත්මිය - මීගොඩ - රු. 1,500/- ♦ කෝසල ජයතිලක මහතා - ගම්පහ - රු. 1,500/- ♦ ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල - රු.1,100/- ♦ ඩබ්.ඒ ලක්දාස් පෙරේරා මහතා - ඉඹුල්ගොඩ - රු. 1,070/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - මිරිහාන- රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා-කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්ලිව්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ සමරා ගජනායක මහත්මිය - කහතුඩුව - රු.1,000/- ♦ එල්.ඒ පියදාස මහතා සහ එම්. වී විතානගේ මහත්මිය - ඉහළතල්දූව - රු.1,000/- ♦ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ♦ ඒ.ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු.1,000/- ♦ කේ.ඩී. සුනේත්‍රා මහත්මිය සහ පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ - රු.1,000/- ♦ එච්. ඒ. ඉන්දික මදුරංග මහතා - මහකන්ද රු.1,000/- ♦ මාලනී ලියනගේ මහත්මිය - ග්‍රෙගරි පාර කොළඹ 07 - රු.1,000/- ♦ චන්ද්‍රානි පෙරේරා මහත්මිය සහ ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු.1,000/- ♦ කසුන් තාරක වික්‍රමසූරිය මහතා සහ සිතුමිණි ප්‍රබෝධා මහත්මිය - පානදුර - රු.1,000/- ♦ චතුර දනංගල මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු.1,000/- ♦ කරුණා පීරිස් මහත්මිය - හොරණ - රු.1,000/- ♦ මාලනී සමරක්කොඩි මහත්මිය බණ්ඩාරවෙල - රු.1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - 1,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - 1,000/- ♦ ඒ. ඒ. එන් අමරසිංහ මහතා - අවුලේගම - 1,000/- ♦ පී. රුවීනා දිපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටෙ - 1,000/- ♦ ජයන්ත සල්ගාදු මහතා - බෝමිරිය - රු. 1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ♦ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 1,000/- ♦ එච්. එම්. පුෂ්පනන්ද මහතා ඇතුළු පවුලේ සැම - කටුගස්තොට, අසංගා විජයවර්ධන මහත්මිය ඇතුළු පවුලේ

☞

සැම, තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, එච්.එම් වසන්ත කුමාර මහතා - නිකවැරටිය, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, ඒ. එම් පද්මා කුමාරි අබේකෝන් මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, කේ. එච්. ටී ෆෙඩ්රික් මහතා - හෝමගම, අමලා මදුරි ගුණවර්ධන මෙනවිය - ඩබ්.එම්. චන්ද්‍රසිරි විජේරාජ මහතා - කරඳවැටිය, ගයාන් අගලවත්ත මහතා සහ මැණික් කුරුප්පු මහත්මිය, හේමාස් ආයතනය - කොල්ලුපිටිය - - එකතුව - රු. 7,200/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 211,570/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦ අනෙකුත් වියදම් - 17,730/- ♦ සම්පූර්ණ වියදම - රු. 250,230/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රකෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308)
3. නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
5. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
6. පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
7. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
8. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
9. පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714
10. යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220
11. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)

13. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
14. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
15. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
16. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
17. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
18. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.

තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක **33**, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - **0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# දුටු වෙමි සම්බුදුනේ දහමෙහි යළි උපත

නොදැන නිසි මග අඳුරු කුටියක නිරතුරුව සිත බිය දැනේ
ඇසුනි ඒ හඬ නොඇසු මින් පෙර අවදි කර සිත බැතියෙනේ
පිපුනි පියුමක් බොදුනු හෙළයට සුවඳ පතුරා බුදු බණේ
විවර විය මග නොසිතු විලසට නිවන් පුර දොර අරිමිනේ

තෙරක් නොපෙනෙන සසර කතරේ දකින බියකරු සිහිනයන්
බැඳ තබයි සිත් නෙක රටාවෙන් මවා සිත් තුල රාගයන්
යොමා නෙතු පිය බලනු කෙලෙසද ලුහු බඳී විස සරුපයන්
විඳියි අපමණ විපත් දිවි මග නොලැබ දහමෙහි සහනයන්

ලොවට සෙත දෙන ගැඹුරු දහමක් බොදු පියුම තුල සුපිපුනා
අඳුර දුරු වී දහම් එළියෙන් බොදුනු සිතිවිලි හැඩ වුනා
සතුට සැනසුම සදා කල්හිම දිවි මගට අපෙ එළි වුනා
හිමියනේ අපි උපන් පින් බිම බුදු බණින් යළි පිබිදුනා

කඳුළු මුතු කැට දෙනෙත වගුරා සම්බුදුනේ ඔබෙ පා දොවන්නම්
විවර කර නෙත් ලොව දකින්නට අඳුරු තිර සළු හැර දමන්නම්
දෙසූ බුදු බණ අවදි කර ලොව පහන් හැඟුමින් යළි අසන්නම්
දෙඅත් හිස මත තබා සම්බුදුනි බැති සිතින් නිබඳව පුදන්නම්

පබැඳුම - සිවිල් ඉංජිනේරු නන්දන රණවක, කිරිඳිවැල

# මුලා වූ ලෝකේ...









මුලා වූ ලෝකේ
සවනතට වැකි දහම් නාදේ
බැන්ද බැමි මා අතීතේ
නිමා වී අද නිවන වූයේ...

මහ පොළොව පැරදූ සිරුරු ගොඩ
අනත සසරේ කොතෙක් දෝ
කිලිපොලා මා මුළු සිරුරු කඳ
මහා බියකට පත් කළේ...

දහම් නාදය හිතට එද්දී
සමිඳු බුදු වූ දිනය විලසින්
අමා පැන් ඒ නිවන දාහය
සසර මතු නෑ නිවන වේ...

ගායනය/තනු නිර්මාණය/සංගීතය - ඉසුරු ගාල්ලගේ
ගී පද රචනය - නීතිඥ චන්දන සිරිවර්ධන

අන්තර්ජාල යොමුව - https://youtu.be/_o3rkRH01MM

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී